# ගියෙනා කිඹුල් හාමි
## සහ
# ඔහු ගේ යාළුවෝ



ඒදුආර්ද් උස්පෙන්ස්කි

එදුආර්ද් උස්පෙන්ස්කි

# ගියෙනා කිඹුල්හාමි සහ ඔහු ගේ යාළුවෝ

පරිවර්තනය

**මල්රේණු කස්තූරිරත්න**

රුසියන් බසිනි.



සී/ස, ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්) සමාගම



# කැමති නම් නොකියවා සිටිය හැකි පෙරවදන

සමහර විට දරුවනේ, ඔබ අතරින් සෑම කෙනෙකුට ම තමන්ගේ ම කැමති ම සෙල්ලම් බඩුවක් ඇතිවාට සැකයක් නැහැ. ඇතැම් විට දෙකක්, නැතිනම් පහක් පවා...

උදාහරණයක් ලෙස මම කුඩා කාලයේදී කැමති ම සෙල්ලම් බඩු තුනක් මට තිබුණා. ගියෙනා නම් විශාල රබර් කිඹුලෙක්, ගාල්යා නම් ලස්සන පුංචි බෝනික්කියක් සහ පුළුන් පුරවා ලොම් රෙද්දෙන් සැදූ චෙබුරාෂ්කා නම් අරුම පුදුම නමකින් හැඳින්වූ අමුතු සත්ත්වයෙක්...

චෙබුරාෂ්කා නිපදවූයේ සෙල්ලම් බඩු පැක්ටරියේයි. එහෙත් එය අදක්ෂ ලෙස නිපදවූවා පමණක් නොව, එම සත්ත්වයා හාවෙක් ද බල්ලෙක් ද පූසෙක් ද නැත්නම් ඕස්ට්‍රේලියාවේ කැන්ගරුවෙක් ද කියා කාටවත් කිව නොහැකි වූ බව ද මෙහිදී මතක් කළ යුතු වෙනවා. ඔහු ගේ දෙනෙත් විශාලයි. හරියට බකමූණෙකු ගේ වගේ. හිස රවුම් හාවෙකු ගේ වගේ. ලෝම පිරුණු කෙටි වලිගය පුංචි වලස් පැංචෙකුට හරියට ම සමානයි.



චෙබුරාෂ්කා යනු නූතන විද්‍යාව විසින් තවමත් සොයා නොගන්නා ලද සර්ම කලාපීය උණුසුම් වනාන්තරවල වෙසෙනා සත්ත්වයෙක් බැව් මගේ දෙමාපියෝ මට තදින් ම ඒත්තු ගන්වා තිබුණා.

මිනිසා විසින් මෙතෙක් සොයා නොගත් එම අරුම පුදුම සත්ත්වයා - චෙබුරාෂ්කාට මුලදී මම බෙහෙවින් බිය වුණා. එහෙත් ටිකෙන් ටික මම පුදුම පෙනුමක් ඇති චෙබුරාෂ්කාට හුරු වුණා. ඔහු සමග මිතුරු වුණා. කොටින්ම රබර් කිඹුලා ගියෙනාටත්, ප්ලාස්ටික් බෝනික්කී ගාල්යාටත් වඩා මම එයාට ආදරය කරන්න පටන් ගත්තා.

එදා සිට මේ දක්වා බොහෝ කාලයක් ගත වී ගියා. එනමුත් මම තවමත් ඉතා සතුටින් මගේ පැරණි මිතුරන් නිතර සිහිපත් කරනවා. ඒ නිසා ඔන්න මම ඔවුන් ගැන පොතක් ම ලිව්වා.

ඇත්ත වශයෙන් ම ඔවුන් මෙහි සෙල්ලම් බඩු ලෙසින් නොව සැබෑ සජීවී චරිත මෙන් ඔබට හමු වෙනු ඇත...

සර්ම කලාපීය එක්තරා උණුසුම් ඝන වනාන්තරයක බොහෝ ම සිනා උපදවන සත්ත්වයෙක් ජීවත් වුණා. එයා ගේ නම චෙබුරාෂ්කා. ඇත්තෙන් ම එයා සර්ම කලාපීය වනාන්තරයේ වාසය කළ කාලයේදී කිසිම නමක් එයාට නොතිබූ බව නම් විශ්වාසයි. එයාට චෙබුරාෂ්කා කියන නම ලැබුණේ වනාන්තරය අතහැර විත් මිනිසුන් හමු වුණාට පසුවයි. ඇත්තෙන් ම මිනිස්සු සෑම සතෙකුට ම නමක් දානවා නොවැ. මිනිස්සු අලියාට කිව්වා - ඌ අලියා ය කියලා. ජිරාෆ්ට කිව්වා - ඌ ජිරාෆ් ය කියලා. එතකොට හාවාට කිව්වා - ඌ හාවා ය කියලා...

ඔන්න අලියාට නම් ටිකක් හිතන්නවත් පුළුවන් එයා අලියා ය කියලා. ඒ මොකද එයාට තියෙන්නේ බොහොම පහසු නමක් නිසා. එහෙත් නිකමට හිතා බලමුකෝ හිපපොටේමස් ගේ තත්ත්වය කොහොමද කියලා? හිප-පොටේ-මස්. මහ මොකක්ද වගේ අමාරු වචනයක්.

ඔන්න අපේ සත්ත්ව පැංචා නම් කවදාවත් තමන් ගේ නම ගැන ටිකක්වත් වද වුණේ නැහැ. එයාට නමක් ඕනෙද නැද්ද කියලාවත් කල්පනා වුණේ නැහැ. බොහෝ ම චාමෙට එයා දුර ඈත සර්ම කලාපීය වනාන්තරයේ වාසය කළා.

දිනක් ඔහු උදේ පාන්දරින් ම අවදි වී, අත් දෙක පිටුපසට බැඳ ගෙන ප්‍රණීත වාතය ආශ්වාස කරන්නත් එක්ක ටිකක් වනාන්තරේ ඇවිදින්න ගියා.

තනියම එයා ඇවිද ගෙන - ඇවිදගෙන යන අතරතුර ලොකු පලතුරු වත්තක පැණි දොඩම් පුරවපු පෙට්ටි කිහිපයක් තිබෙන සැටි එක්වර ම දුටුවා. දුර දිග නොසිතා ම චෙබුරාෂ්කා ඉන් එක් පෙට්ටියකින් පැණි දොඩම් ගෙඩියක් අරගෙන උදේ ආහාරය භුක්ති විඳින්න පටන් ගත්තා. එයා සම්පූර්ණ දොඩම් ගෙඩි දෙකක් ම කෑවා. එයා ගේ බඩ කොච්චර පිරුණාද කිව්වොත් කෙළින් කටින් සිටගෙන ඉන්නවත් බැරි වුණා. ඒ තරමට ම අමාරුයි. ඔන්න ඉතින් එයා කෙළින් ම පෙට්ටියේ පැණි දොඩම් ගෙඩි උඩ වැටිලා නිදන්න පටන් ගත්තා.

එයා මොන තරම් තද නින්දකට වැටුණාද කිව්වොත් පලතුරු වත්තේ වැඩ කරන අය ඇවිත් සියලු ම දොඩම් පෙට්ටි පියනකින් වසා ඇණ ගහපු හඬවත් ඇහුනේ නැහැ.

ඉන් පසු ව චෙබුරාෂ්කාත් සමග ම පැණි දොඩම් පෙට්ටි ටික නැවකට පටවලා බොහෝ ම දුර ඈත සවාරියකට පිටත් කර හැරියා.

පැණි දොඩම් පෙට්ටි ටික බොහෝ කාලයක් මුහුදු සහ සාගර දිගේ යාත්‍රා කළා. අන්තිමේදී බොහෝ ම ලොකු නගරයක පලතුරු වෙළෙඳ සලකට සේන්දු වුණා. එම පලතුරු වෙළෙඳ සලේදී දොඩම් පෙට්ටි විවෘත කර බලන විට ඉන් එක පෙට්ටියක එකම එක පැණි දොඩම් ගෙඩියක්වත් තිබුණේ නැහැ. ඒ වෙනුවට  පෙට්ටිය තුළ බෝලයක් වගේ මහත් වුණු අපේ චෙබුරාෂ්කා ඉන්නවා.

වෙළෙන්දෝ පෙට්ටිය ඇතුළෙන් චෙබුරාෂ්කා ව එළියට ඇදලා අරගෙන මේසය මත තැබුවා. ඒ වුණාට චෙබුරාෂ්කාට මේසය මත සිට ගෙන ඉන්න බැරි වුණා. ඒ මොකද කියනවා නම්, එයා ඕනෑවටත් වැඩි කාලයක් ඒ පෙට්ටිය ඇතුළේ සිර වෙලා සිටි නිසා එයා ගේ දෙපා හොඳට ම හිරි වැටිලයි තිබුණේ. එයා ඉඳගෙන ම වට පිට හොඳට බැලුවා. පසුව සිට ගන්න හැදුවා විතරයි. එයා මේසයේ සිට පුටුවට ඇද වැටුණා.

ඒත් එයාට පුටුව මත වුණත් වැඩි වෙලා ඉන්න බැරි වුණා. චෙබුරාෂ්කා ආයෙත් පාරක් පුටුවෙන් බිමට වැටුණා.

''අනේ නුඹ නම් - මහ පුදුම චෙබුරාෂ්කෙක් තමයි!'' (එක තැන ඉන්න බැරිව ඇද වැටෙන අයට රුසියානු භාෂාවෙන් චෙබුරාෂ්කා කියලා කියනවා) වෙළෙඳ සලේ කළමනාකරු කිව්වා. ''කොයි හැටියකටවත් එක තැන ඉන්න බැහැ නොවැ.''

ආන්න ඒ විදියට තමයි අපේ පැංචා එයා ගේ නම චෙබුරාෂ්කා ය කියලා දැන ගත්තේ.

''දැන් ඉතින් මම මොනවද නුඹ සමග කරන්නේ?''යි කළමනාකරු චෙබුරාෂ්කා ගෙන් ඇහුවා. ''පැණි දොඩම් වෙනුවට නුඹව විකුණන්න බැහැ නොවැ?''

''දන්නේ නැහැ.''යි චෙබුරාෂ්කා උත්තර දුන්නා. ''කැමති විදියකට, කැමති දෙයක් කරන්න.''

ඉදින් කළමනාකරුට සිදු වුණා, චෙබුරාෂ්කාවත් කිහිලි ගන්නා ගෙන නගරයේ ප්‍රධාන සතුන් වත්තට දිව යන්න.

එහෙත් සතුන්වත්තට චෙබුරාෂ්කා භාර ගත්තේ නැහැ. පළමුවැනි කාරණය - ඒ වන විටත් සතුන් වත්ත හොඳටෝම පිරී ඉතිරිලයි තිබුණේ. දෙවැනි කාරණය - චෙබුරාෂ්කා යනු මිනිසා විසින් මෙතෙක් සොයා නොගන්නා ලද සත්ත්වයෙක් බව පෙනී යාමයි. එහි කිසිම කෙනෙක් දැන සිටියේ නැහැ, එයාව තියන්න ඕන හාවාත් එක්ක ද, කොටියාත් එක්ක ද, නැතිනම් අඩුම තරමේ මුහුදු කැස්බෑවා එක්ක ද කියලාවත්.

එවිට කළමනාකරු යළිත් වරක් චෙබුරාෂ්කා ව කිහිලි ගන්නා ගෙන ඔහු ගේ දුර නෑයෙක් සොයා ගෙන ගියා. ඔහුත් වෙළෙඳ සලක කළමනාකරුවෙක්. ඔහු ගේ වෙළෙඳ සලේ පරණ බඩු තමයි වෙළෙඳාම් කළේ.

''කාරි නෑ... මට මේ සතාව හිතට ඇල්ලුවා. එයා දෝෂ සහිත සෙල්ලම් බඩුවකට සමානයි. මම එයාව රැකියාවකට බඳවා ගන්නවා. එකඟද මා සමග?''යි අලුත් කළමනාකරු ඇහුවා.

''එකඟයි.''-චෙබුරාෂ්කා පිළිතුරු දුන්නා. ''ඉතින් මට මොනවද කරන්න තියෙන්නේ?''

''ප්‍රදර්ශන කවුළුවේ සිට ගෙන ඉඳලා පාරේ යන එන අය ගේ අවධානය වෙළෙඳ සැලට යොමු කරවන්න ඕන. පැහැදිලි ද?''

''පැහැදිලියි.'' චෙබුරාෂ්කා පිළිතුරු දුන්නා. ''එතකොට මම කොහේද නවතින්නේ?''

''නවතින්නේ ද?.. ආ... ඔව්... මෙන්න මෙතන!''යි කී කළමනාකරු වෙළෙඳ සලේ දොරටුව අසල ම වූ පරණ දුරකථන කුටිය චෙබුරාෂ්කාට පෙන්නුවා. ''ආන්න එය නුඹ ගේ නිවහන වේවි!''

එලෙස චෙබුරාෂ්කා එම විශාල වෙළෙඳසලේ සේවය කිරීමටත්, එම පුංචි නිවසේ වාසය කිරීමටත් පටන් ගත්තා. ඇත්තෙන් ම ඒ පුංචි නිවහන නගරයේ ඇති හොඳ ම නිවහන නම් නොවෙයි තමයි. ඒ වුණත් හැමදාම චෙබුරාෂ්කා ගේ අත ළඟ ටෙලිෆෝනය පිහිටා තිබුණා. ඒ නිසා ඕනෑම වෙලාවක කාට හරි ටෙලිෆෝන් කරන්න උවමනා වුණොත් තමන් ගේ නිවහනෙන් එක අඩියක් වත් එළියට නොතියා එයාට ඒ වැඩේ කර ගන්න හැකි වුණා.

එහෙත් කණගාටුවකට මෙන් ඔහුට ටෙලිෆෝනයෙන් කතා කිරීමට තවමත් කිසිම යාළුවෙක් ඇත්තේ නැහැ. ඒත් එයා ඒ ගැන චුට්ටක්වත් දුක් වුණේත් නැහැ.

චෙබුරාෂ්කා පෙනී සිටි එම නගරයේ ගියෙනා නම් කිඹුල් හාමි කෙනෙක් වාසය කළා. කුඩා මහල් නිවසක වාසය කළ ඔහු සෑම උදෑසනක ම අවදි වී මුහුණ කට සෝදා, උදේ ආහාරය ගෙන සතුන් වත්තේ වැඩට ගියා. ඔහු සතුන් වත්තේ කිඹුලෙකු ලෙස සේවය කළා.

සතුන් වත්තේ වැඩට පැමිණෙන කිඹුල්හාමි ඇඳුම් කට්ටලය සහ තොප්පිය උනා බිත්තියේ ඇණයේ එල්ලා, බස්තම පසෙකින් තබා, නාන තටාකය අසල බිම වැතිරී අව්ව තපින්නට පටන් ගන්නවා. ඔහු ගේ කූඩුවේ මෙසේ ලියූ පුවරුවක් සවි කර තිබුණා.

> ගියෙනා - අප්‍රිකානු කිඹුලෙකි.
> වයස අවුරුදු පනහකි.
> කෑම දීමට සහ අත ගෑමට අවසර තිබේ.

වැඩමුරය අවසන් වූ පසු ජැන්ඩියට හැඳ පැලඳ ගන්නා ගියෙනා සිය කුඩා මහල් නිවස බලා පිටත්ව යයි. නිවසේදී ඔහු පත්තර කියවයි. පයිප්පයෙන් දුම් බොයි. මුළු සවස් වරුව ම තමා සමගින් ම ඔහු තනියම දාම් සෙල්ලම් කරයි.

එක් දිනක් එලෙස ඔහු තමා සමගින් සෙල්ලම් කර පිට පිට ම දාම් අත් හතළිහක් ම දිනුවා. ඉතින් එයාට ගොඩක් දුක හිතුණා.

''ඇයි මං හැම වෙලාවෙම තනියම?''යි ඔහු කල්පනා කළා. ''නොවරදවා ම මම මිතුරන් ඇසුරු කළ යුතුයි.''

ඉදින් ඔහු කඩදාසියක් ගෙන මෙවැනි දැන්වීමක් ලිව්වා.

වයස අවුරුදු පනහක් වන තරුණ කිඹුලෙක්
මිතුරන්ගේ ඇසුර පතයි.
මිතුරු වීමට කැමති කෙනෙක් සිටී නම්,
පහත ලිපිනය වෙත පැමිණෙන්න.
ලොකු මාලු බනිස් වීදිය. අංක 15
සීනුව තුන හමාරක් නාද කරන්න.

එදින සැඳෑ කාලයේ ඔහු නගරය පුරා එම දැන්වීම අලවා මග බලා සිටින්නට වුණා.



පසු දින හිරු බැස යන යාමයේ කවුදෝ කෙනෙක් ඔහු ගේ දොරේ සීනුව නාද කළා. එළිපත්ත මත බොහොම බැරෑරුම් පුංචි ගැහැණු ළමයෙක් සිටගෙන සිටියා.

''ඔබ ගේ දැන්වීමේ සම්පූර්ණ වැරදි තුනක් තිබෙනවා.''යි ගැහැණු ළමයා කිව්වා.

''වෙන්න බැහැ.''යි ගියෙනා කෑ ගැහුවා. ඔහු සිතා සිටියේ අඩුම තරමින් එහි වැරදි දහඅටක් වත් ඇතියි කියලයි. ''මොනවද ඒ වැරදි?''යි ඔහු ඇහුවා.

''මුල්ම වැරැද්ද - කිඹුලා කියන වචනය ලියන විට මූර්ධජ 'ළ' අකුර නෙවෙයි ලියන්නේ. දන්තජ 'ල'. දෙවැනි වැරැද්ද... ඔබට අවුරුදු පණහක් නම් ඔබ කොහොමද තරුණයෙක් වෙන්නේ...?''

''ආ... කිඹුල්ලු අවුරුදු තුන්සියයක් ජීවත් වෙනවා. ඒ අනුව මම තවමත් ඉතා ම තරුණයි.'' ගියෙනා විරෝධය පළ කරමින් කිව්වා.

''කාරි නෑ... නමුත් නිවැරදිව ව්‍යාකරණානුකූල ව ලිවිය යුතුයි., හොඳයි එන්න අපි හඳුනාගනිමු. මගේ නම ගාල්යා. මම වැඩ කරන්නේ ළමා රඟහලේ.''යි ගැහැණු ළමයා කිව්වා.

''මගේ නම ගියෙනා. මම වැඩ කරන්නේ සතුන් වත්තේ, කිඹුලෙක් හැටියට.''

''හොඳයි. දැන් අපි මොනවද කරන්නේ?''යි ගාල්යා ඇහුවා.

එහෙත් එවිට ම දොරේ සීනුව යළිත් නාද වුණා.

''ඔතන කවුද?'' කිඹුල්හාමි ඇහුවා.

''මේ මම. චෙබුරාෂ්කා''

එක්වරම කාමරය තුළ අප්‍රකට සත්ත්වයෙක් පෙනී සිටියා. ඌ විදහා ගත් ලොකු දෙනෙත් සහ බෝලයක් වැනි කෙටි වලිගයක් ඇති දුඹුරුපාට සත්ත්වයෙක්.

''ඔයා මොන ජාතියේ එකෙක්ද?''යි අමුත්තා වෙත නැඹුරු වෙමින් ගාල්යා ප්‍රශ්න කළා.

''දන්නේ නෑ...''යි අමුත්තා පිළිතුරු දුන්නා.

''චුට්ටම-චුට්ටක් වත් දන්නේ නැද්ද?''යි ගැහැනු ළමයා ප්‍රශ්න කළා.

''චුට්ට ම - චුට්ටක් වත්...''

''ඔයා අහම්බෙන් වත් වලස් පැංචෙක් නෙවෙයි ද?''

''දන්නේ නැහැ.''යි චෙබුරාෂ්කා කිව්වා. ''සමහර විට මම වලස් පැංචෙක්.''

''නැහැ''යි කිඹුල්හාමි මැද්දට පැන්නා. ''එයා බිංදුවක් වත් වලස් පැංචෙක් නෙවෙයි. වලස්සුන් ගේ ඇස් පුංචියි. ඒ වුණාට මෙයා ගේ ඇස් මෙන්න මේ වගේ ලොකුයි.''

''එහෙම නම් එයා සමහර විට බලු පැටියෙක්...'' ගාල්යා අනුමාන කළා.

''සමහර විට''යි අමුත්තා එකඟ වුණා. ''ඒත් බලු පැටවුන්ට ගෙවල් ඇතුළට එන්න දෙනවද?''

''නැහැ. එන්න දෙන්නේ නැහැ''යි ගියෙනා පිළිතුරු දුන්නා. ''ඔවුන් හැම තිස්සෙම බුරනවා.''

''කොහොමද?''

''මෙන්න මේ විදියට... බව්-බව්!'' කිඹුල්හාමි බුරලා පෙන්නුවා.

''බැහැ. මට ඒ විදියට බුරන්න බැහැ.''යි චෙබුරාෂ්කා කණගාටුවෙන් කිව්වා. ''ඒ කියන්නේ මම බලු පැටියෙකුත් නෙවෙයි.''

''ආ... මං දන්නවා නුඹ කවුද කියලා.''යි යළිත් ගාල්යා කිව්වා. ''ඔයා සමහර විට දිවියෙක්.''

''සමහර විට''යි චෙබුරාෂ්කා එකඟ වුණා. එයාට දැන් කවුරු වුණත් එකයි. ''සමහර විට මම දිවියෙක්.''

ඔවුන් අතරින් කවුරුවත් දිවියෙක් දැකලා නොතිබුණෙන් කාරණය තවත් දික් ගැස්සුණා.

''එන්න අපි ශබ්දකෝෂයේ බලමු.''යි ගාල්යා යෝජනා කළා.''එහි සෑම අකුරකින් ම එන සෑම වචනයක් ම විස්තර කරලා තියෙනවා.''

''අන්න හොඳයි. අපි බලමු ශබ්දකෝෂයේ.''යි චෙබුරාෂ්කා එකඟ වුණා. ''හොඳයි. එතකොට අපි මොන අකුරෙන්ද බලන්නේ?''

''අපි බලමු 'ග' අකුරෙන්.''යි ගාල්යා කිව්වා. ''ඒ මොකද, දිවියෝ ගොරවන්නේ 'ගර්ර්...ර්...ර්' ගාලා.''

''ඒ වගේ ම 'හ' අකුරෙනුත්.''යි ගියෙනා යෝජනා කළා. ''ඒ මොකද, දිවියෝ හපනවා.''

ඇත්තෙන් ම ගාල්යා යි, ගියෙනා යි දෙන්නා ම නිවැරදි වුණේ නැහැ. මන්ද යත් දිවියා යන වචනය ශබ්ද කෝෂයේ සොයන්න පුළුවන් 'ද' අකුරන් මිස 'ග' අකුරෙන් වත් 'හ' අකුරෙන් වත් නොවන නිසා.

''ඒත් මම ගොරවන්නේ වත්, හපන්නේ වත් නැහැනේ.'' චෙබුරාෂ්කා කිව්වා. ''ඒ කියන්නේ මම දිවියෙකුක් නොවෙයි.''

ඉන් පසුව එයා නැවතත් කිඹුල්හාමි දිහාට හැරුණා.

''කියන්න මම මොන වගේ සතෙක්ද යි ඔයාලා දන්නේ නැත්නම් මා සමග මිතුරු වෙන්නේ නැතිද?''

''ඒ මොකද?''යි ගියෙනා පිළිතුරු දුන්නා. ''සියල්ල රඳා පවතින්නේ ඔබ මතයි. ඔබ හොඳ සහෝදරයෙක් ලෙස පෙනී සිටිනවා නම්, අපි ඉතා ම සතුටින් ඔබ සමග මිතුරු වෙනවා. නිවැරදියි නේද?''යි කිඹුල්හාමි ගැහැණු ළමයා ගෙන් විමසුවා.

''ඇත්තෙන්ම''යි ගාල්යා එකඟතාව පළ කළා. ''ඉතා ම සතුටින් මිතුරු වෙනවා.''

''ජය වේවා!''යි චෙබුරාෂ්කා කෑ ගැහුවා. ''ජයවේවා!''යි තව සැරයක් කෑ ගැසූ චෙබුරාෂ්කා යන්තමින් උඩ පැන්නා... යන්තමින් කිව්වට සිවිලිමේ ගැවුනේ නැත්තේ යන්තමින්...

ඉතින්'' දැන් අපි මොනවද කරන්නේ?''යි සියලු දෙනා දැන හඳුනාගත් පසු චෙබුරාෂ්කා ඇහුවා.

''එන්න අපි දාම් සෙල්ලම් කරමු.''යි ගියෙනා යෝජනා කළා.

''බැහැ''යි ගාල්යා කිව්වා. ''වඩා හොඳයි අපි 'දක්ෂ අත්' සෙල්ලම කරමු.''

''ඒත් මට අත් නැහැනේ.''යි චෙබුරාෂ්කා විරුද්ධ වුණා.

''මටත් නැහැ.''යි කිඹුල්හාමි එයාට අනුබල දුන්නා. ''මට තියෙන්නේ කකුල් විතරයි.''

''බාගදා අපට 'දක්ෂ කකුල්' කියලා සෙල්ලමක් කරන්න බැරි වෙන එකක් නැහැ''යි චෙබුරාෂ්කා යෝජනා කළා.

''නැති නම් 'දක්ෂ වලිග' කියලා...?''යි කිඹුල්හාමි එකතු කළා.

''ඒත් කණගාටුවට කාරණේ මට වලිගයක් නැහැ නොවැ.''යි ගාල්යා කිව්වා.

ඉදින් හැමෝම නිහඬ වුණා.

ඒ අතරේ මේසය මත තිබූ ඔරලෝසුව දෙස චෙබුරාෂ්කා ඇහැ යොමු කළා.

''ඔයාලා දන්නවද, දැනටමත් හොඳටෝම රෑ බෝ වෙලා. අපට දැන් ගෙවල් බලා යන්න වෙලාව හරි''යි චෙබුරාෂ්කා කිව්වා.

එයාට පොඩ්ඩක් වත් ඕන වුණේ නැහැ අලුත් මිතුරන් අතරේ පොඩි හරි මතභේදයක් ඇති වෙනවා දකින්න...

''හැබෑම තමයි.'' කිඹුල්හාමි එකඟ වෙමින් කිව්වා. ''සත්තකින් ම අපට දැන් ගෙවල් බලා යන්න වෙලාව හරි.''

ඇත්ත වශයෙන් ම ඔහුට ගෙවල් බලා යන්න තැනක් නැහැ. ඔහු තමන් ගේ නිවසේමයි ඉන්නේ. ඒත් කිඹුල්හාමිට නිදා ගන්න බොහෝ ම ලොකු උවමනාවක් තිබුණා.

හැමදාමත් වගේ එම රාත්‍රියේත් ගියෙනා කිඹුල්හාමි සනීපෙට නිදා ගත්තා.

එතකොට චෙබුරාෂ්කාට...? එයාට පොඩ්ඩක්වත් නින්ද ගියේ නැහැ. මන්ද යත් එයාට තවමත් විශ්වාස නැහැ, තමන්ට අලුත් මිතුරන් හමු වූ බව.

චෙබුරාෂ්කා බොහෝ වේලාවක් ඇඳ ඇතිරිලි මත පෙරළෙමින් සිටියා. එයා කිහිප සැරයක්ම හතිකට නැගිටලා කල්පනා කරමින් එයා ගේ පුංචි දුරකථන කුටිය තුළ ඒ මේ අත සක්මන් කරන්න වුණා.



සෑම හැන්දෑවක ම දැන් ගියෙනා, ගාල්යා සහ චෙබුරාෂ්කා ගත කළේ එකටයි. සෑම දිනක ම වැඩ ඇරී කිඹුල් හාමිගේ නිවසට එකතු වන ඔවුන් බොහෝ වේලා කතා බහ කරමින් සිටියා. කෝපි බිව්වා. දාම් සෙල්ලම් කළා. කෙසේ වුවත් තමන්ට සැබෑ මිතුරන් පහළ වූ බව චෙබුරාෂ්කාට තවමත් අදහා ගන්න බැහැ.

''අන්න වැඩේ.'' දිනක් ඔහු කල්පනා කළා. ''මම කිඹුල්හාමිට මගේ නිවසට අමුත්තෙක් ලෙස පැමිණෙන්න යැයි ආරාධනා කළොත් - එයා නැවිත් ඉදියිද? එයා ආවොත් ඒ කියන්නේ අපි දැනටමත් හොඳ යාළුවෝ''යි සිත සනසා ගනිමින් චෙබුරාෂ්කා තීරණය කළා. ''ඒත් බැරිවෙලාවත් නාවොත්...?''

ඒ ගැන වැඩිදුර කල්පනා නොකළ චෙබුරාෂ්කා දුරකථනයේ රිසීවරය අතට ගත්තා.

''හලෝ... ගියෙනා... ආයුබෝවන්!'' චෙබුරාෂ්කා දුරකථනයෙන් කිව්වා. ''නුඹ මොකද කරන්නේ?''

''මොනවත් නැහැ.'' කිඹුල්හාමි උත්තර දුන්නා.

''දන්නවද කාරණේ? අපේ දිහා එන්නකෝ.''

''අමුත්තෙක් ලෙස?''යි ගියෙනා මවිත වුණා. ''ඒ මොකටද?''

''කෝපි බොන්න''යි මුලින් ම ඔළුවට ආ අදහස චෙබුරාෂ්කා කිව්වා.

''අන්න වැඩේ.!''යි කිඹුල්හාමි සතුටින් කිව්වා. ''මම කැමැත්තෙන් ම එන්නම්.''

''ජයවේවා!''යි යන්තමින් කෑ නොගහා සිටින්නට චෙබුරාෂ්කා සමත් වුණා. එහි සැලකිය යුතු තරම් කිසි දෙයක් නොමැති බව ඔහුට එකවර ම වැටහුණා. එක් සහෝදරයෙක්, තවත් සහෝදරයෙක් බලන්න

පැමිණෙනවා. එපමණයි! ඉදින් කුමටද 'ජයවේවා'යි කෑ ගසන්නේ? මුලින් ම කළ යුතුව ඇත්තේ ඔහුට ඉතා හොඳින් ආගන්තුක සත්කාර කරන්නේ කෙසේද යි සිතා බැලීමයි.

එම නිසා ඔහු කිඹුල්හාමිට මෙහෙම කිව්වා.

''අනේ නුඹ තරහ නැතිව අරගෙන එනවද පීරිසි කෝප්ප ටිකක්. මගේ ළඟ පිඟන් බඩු මොකවත් ම නැහැ.''

''අපෝ මක් වෙනවද... මං අරගෙන එන්නම්.''යි කී ගියෙනා පීරිසි කෝප්ප එකතු කරන්නට පටන් ගත්තා.

නමුත් චෙබුරාෂ්කා ආයෙත් පාරක් ටෙලිෆෝන් කළා.

''දන්නවද වැඩේ? ජේන හැටියට මගේ ළඟ කෝපි කේතලයකුත් නැහැ. තරහ නැතිව අරගෙන එනවද නුඹේ එක. මම දැක්කා ඔයාලගෙ කුස්සියේ එකක් තියෙනවා.''

''හොඳයි ගේන්නම්.''

''ආ... ඒ වගේ ම තවත් එක පුංචි ඉල්ලීමක් තියෙනවා. තරහ නැතිව එන ගමන් කඩේට පොඩ්ඩක් දුවලා කෝපි ටිකකුත් අරගෙන එනවද? මගේ ළඟ කෝපි ඉවර වෙලා.''

ඉක්මනින් ම චෙබුරාෂ්කා තව පාරක් ටෙලිෆෝන් කරලා පොඩි බාල්දියකුත් රැගෙන එන්නැයි ඉල්ලා සිටියා.

''පොඩි බාල්දියක්? ඒ මොකටද?''

''මේකයි වැඩේ, ඔයා ළිඳ ගාවින් එන කොට බාල්දියට වතුර එකකුත් පුරවගෙන ආවා නම් පංකාදුයි. එතකොට මට ගෙයින් එළියට යන්න ඕන වෙන්නෙම නැහැ...''

''හොඳා... හොඳා...''යි ගියෙනා එකඟතාව පළ කරමින් කිව්වා. ''නුඹ ගේන්න කිව්ව හැම දේම මං අරගෙන එන්නම්.''

දුම්රියපොළේ බඩු උස්සන්නෙක් වගේ අතින් කටින් බඩු මුට්ටු එල්ලගෙන කිඹුල්හාමි ඉක්මනින් ම චෙබුරාෂ්කා ගේ ගේ දොරකඩ පෙනී සිටියා.

''නුඹ ආ නිසා මට ගොඩක් සතුටුයි.'' කිඹුල්හාමි පිළිගනිමින් චෙබුරාෂ්කා කිව්වා. ''ඒ වගේ ම මං චුට්ටක්වත් දන්නේ නැහැ කෝපි හදන හැටි. කවදාවත් ම හදලා නැහැ. නුඹට පුළුවන් නේද කෝපි වක්කරන්න.''

ගියෙනා වැඩ පටන් ගත්තා. ඔහු දර සොයාගෙන ඇවිත් දුරකථන කුටිය අසලින් පුංචි ගිනි මැලයක් මොලවා, කෝපි පෝච්චිය එය මතින්

තැබුවා. අඩ පැයකින් කෝපි නටන්න පටන් ගත්තා. චෙබුරාෂ්කාට හරිම සතුටුයි.

''කොහොමද? මම නුඹට හොඳට සංග්‍රහ කළා නේද?''යි කිඹුල්හාමිව නිවසට ඇරලවන අතරේ චෙබුරාෂ්කා ඇහුවා.

''ආයෙත් අහලා! කෝපි ටික නම් පංකාදුයි!'' ගියෙනා පිළිතුරු දුන්නා. ''ඒ වුණත් මම එක දෙයක් ගැන නුඹෙන් ඉල්ලා සිටින්න කැමතියි. ආයෙත් පාරක් නුඹට හිතුනොත් මට සංග්‍රහ කරන්න, ලැජ්ජා නොවී වරෙන් අපේ දිහා. ඇවිත් කියපං නුඹ මොනවායින්ද මට සංග්‍රහ කරන්න කැමති කියලා විතරක්. තේවලින් ද, කෝපිවලින් ද, එහෙම නැත්නම් දවල් කෑමෙන් ද?

මගේ ගෙදර හැමදේම තියෙනවා. ඒ වගේ ම ඒ විදිය මට හරිම පහසුයි. එකඟයි නේද?''

''එකඟයි.'' චෙබුරාෂ්කා කිව්වා. ඇත්තෙන් ම ගියෙනා ගේ ප්‍රකාශය ගැන පසුව එයාට ටිකක් විතර දුක හිතුණා. කෙසේ වෙතත් එයා බොහොම සතුටට පත් වුණා. ඒ කිඹුල්හාමි එදින එයාව බලන්න ආ නිසා.



පසු දින සැඳෑවේ මුලින් ම කිඹුල්හාමි වෙත පැමිණියේ චෙබුරාෂ්කා ය. ගියෙනා ඒ වෙලාවේ කියවමින් සිටියා. ඔහු බොහොම කැමතියි අකුරට ම නිවැරදි බැරෑරුම් පොත පත කියවන්න. උදාහරණයක් ලෙස සංඛ්‍යානය පොත්, පාඩම් පොත් එහෙමත් නැත්නම් දුම්රිය ගමනාගමන කාලසටහන් වැනි දේ.

''මේ අහන්න. කොහෙද අපේ ගාල්යා?''යි චෙබුරාෂ්කා ගියෙනා ගෙන් ඇහුවා.

''එයා අද මෙහි එනවා කියලා පොරොන්දු වුණා. තාමත් නැත්තේ ඇයි දන්නේ නෑ...''යි ගියෙනා පිළිතුරු දුන්නා.

''එන්න අපි ඇයව බලන්න යමු.''යි චෙබුරාෂ්කා යෝජනා කළා. ''මිතුරන් වුණා ම එකිනෙකා ගැන සොයා බලන්න ඕනෑ...''

''හොඳයි යමු!''යි කිඹුල්හාමි එකඟ වුණා.

ඇගේ නිවසට ගිය ඔවුන්ට ඇයව එහිදී හමු වුණා. ගාල්යා ඇඳේ වැතිරී හඬමින් සිටියා.

''මම අසනීප වෙලා.''යි ඇය මිතුරන්ට කිව්වා. ''මට උණ හැදිලා. අනේ ඒ නිසා අද ළමා රඟහලේ නාට්‍යය පෙන්වන්න විදියක් නැහැ. ළමයි නාට්‍ය බලන්න ආවා ම නාට්‍යය නැතිව යාවි.''

''නාට්‍යය තියේවි!''යි කිඹුල්හාමි ආඩම්බරයෙන් ප්‍රකාශ කළා. ''මම නුඹ වෙනුවට රඟපාන්නම්.'' (ඉස්සර තරුණ කාලේ ඔහු එක්තරා නාට්‍ය කවයක රඟ පාලා තිබුණා.)

''ඇත්තම ද? අනේ කොච්චර අපූරු ද? අද රඟ දක්වෙන්නේ 'රතු හැට්ටකාරි' නාට්‍යය. මම තමයි මිතිබිරියට රඟ පාන්නේ. ඔයාට මතකද ඒ කතන්දරේ?''

''මොකද නැත්තේ...?''

''අනේ කොච්චර අපූරුද! ඔයා ඒ චරිතෙ හොඳට රඟපෑවොත් කාටවත් තේරෙන එකක් නැහැ මං වෙනුවටයි රඟපාන්නේ කියලා. සහජ දක්ෂතාව හරි පුදුම එකක්.''

පසුව ඇය සිය රතු හැට්ටය කිඹුල්හාමිට දුන්නා.

එදින රඟහලට පැමිණි ළමයි අරුම පුදුම නාට්‍යයක් දුටුවා. රතු හැට්ටයකින් සැරසී ගියෙනා වේදිකාවේ පෙනී සිටියා. ඔහු වේදිකාවේ ගමන් කරමින් ගායනා කළා.

''පාර දිගේ මේ යන්නේ,

තඩි කිඹුල් හාමි නේ...''

ඔන්න දැන් රතු හැට්ටකාරිට අළුපාට වෘක රාල මුණ ගැහෙන කොටසට ආවා.

''ආයුබෝවන් රතු හැට්ටකාරි''යි කටපාඩම් කර ගෙන සිටි අයුරින් ම කී වෘක රාල එක පාරට ම ගල් ගැහුනා.

''ආයුබෝවන්ඩ''යි කිඹුල්හාමි උත්තර දුන්නා.

''නුඹ මේ හැබෑට බැරක්වත් යනවද?''

''නෑ... මේ.... ඔහේ නිකම් ඇවිදිනවා.''

''මයෙ හිතේ නුඹ මේ ආත්තම්මා බලන්න යන ගමන් වෙන්න ඇති?''

''ආ... ඔව්. හැබෑමයි.'' කතාව මතක් කර දුන්නාට හිත යටින් ප්‍රශංසා කරමින් කිඹුල්හාමි උත්තර දුන්නා. ''මං යනවා ආත්තම්මා බලන්න.''

''නුඹේ ආත්තම්මා කොහේද වාසය කරන්නේ?''

''ආත්තම්මා ද? එයා වාසය කරන්නේ අප්‍රිකාවේ නයිල් නදී ඉවුරේ''

''හැබෑට? මං හිතන් උන්නේ නුඹේ ආත්තම්මා වාසය කරන්නේ අන්න අතන කැළෑව මායිමේ කියලයි.''

''හරියට ම හරි! එතන වාසය කරන්නෙත් මගේ ආත්තම්මා කෙනෙක් තමයි. මගේ ආත්තම්මාගේ ඥාති සහෝදරී. මං මේ උන්දෑ බලන්න යන ගමන්.''

''ඉතිං මක් වෙනවද?'' කී වෘක රාල එතැනින් පැන දිව්වා.

එතැනින් පැනලා ගිය වෘක රාල නාට්‍ය පිටපත අනුව ඊළඟට දිව ගියේ රතු හැට්ටකාරි ගේ ආත්තම්මා ගේ නිවසට. එයා ආත්තම්මාව ගිල දමලා, ආත්තම්මා වගේ පොරවාගෙන ඇඳේ වැතිරී රතු හැට්ටකාරි එනකම් මග බලාගෙන හිටියා.

ඒ ජවනිකාව වේදිකාවේ රඟ දක්වන අතරතුර තිරය පිටුපස හිඳගෙන කිඹුල්හාමි අමතක වූ කතාන්දරය තව පාරක් කියවා ගත්තා. අන්තිමේදී

කිඹුල්හාමි ආත්තම්මා ගේ නිවස අසලට පැමිණියා.

''ආයුබෝවන්!''යි දොරට තට්ටු කරමින් කිඹුල්හාමි කිව්වා. ''කවුද මෙහි මගේ ආත්තම්මාට ඉන්නේ?''

''ආයුබෝවන්!''යි වෘකරාල උත්තර දුන්නා. ''මමයි නුඹේ ආත්තම්මා.''

''ඔයාට මේ තරම් ලොකු කන් තියෙන්නේ ඇයි ආත්තම්මේ?''යි කිඹුල්හාමි ඇහුවා. එවර නම් ඔහු නිවැරදිව දෙබස කිව්වා.

''ඒ හොඳට ඔයාව ඇහෙන්නයි.''

''එතකොට ඔයාට මේ තරම් දිග ලෝම තියෙන්නේ ඇයි?'' ඔන්න ආයෙත් සැරයක් ගියෙනාට දෙබස අමතක වුණා.

''අනේ මට ලෝම කපන්න වෙලාවක් නැහැ නොවැ මගේ මිනිබිරියේ... මට හොඳටෝම වැඩ...''යි කී කේන්තිකාර වෘකරාල රතු හැට්ටකාරි අල්ලා ගැනීමට ඇඳේ සිට කඩා පැන්නා... ''ඔන්න මං දූන් නුඹව ගිල දමනවා!''

''ආ... හැබෑට? අපි එහෙනම් බලාගනිමු!''යි කී කිඹුල්හාමි වෘක රාලට



බැට දෙන්න ඉදිරියට පැන්නා. ඔහු ගේ සිත මොන තරම් ඒ අවස්ථාවට ඇදී ගොස් තිබුණාද යි කිවහොත්, තමන් සිටින තැනවත්, තමන් නාට්‍යයේ රඟපාන බවවත්, ඊළඟට නාට්‍ය පිටපතට අනුව කුමක් කළ යුතුදැයි කියලවත් ඔහුට මතක නැතිව ගියා.

අළුපාට වෘක රාල පණ බයේ පැන දිව්වා. ළමයි බොහොම ප්‍රමෝදයට පත්වුණා. ඔවුන් කවදාවත් දැක තිබුණේ නැහැ, මේ තරම් රසවත් 'රතු හැට්ටකාරියක්'. ඔවුන් බොහෝ වේලාවක් ඔල්වරසන් දෙමින් අත්පුඩි ගැහුවා. ඒ වගේ ම නාට්‍යය තව සැරයක් මුල සිට ම රඟ දක්වන්නැයි ඉල්ලා සිටියා. ඒත් කිඹුල්හාමි මක් නිසා හෝ එම ඉල්ලීම ප්‍රතික්ෂේප කළා. ඒ වගේ ම එයා බොහෝ වේලාවක් තිස්සේ, නාට්‍යයේ සිදු වූ කිසිම දෙයක් ගාල්යාට නොකියන ලෙසට චෙබුරාෂ්කාට යාප්පු වුණා.



ගාල්යා බොහෝ කාලයක් සෙම්ප්‍රතිශ්‍යාවෙන් පෙළුනා. දොස්තරවරු කාටවත් ඇය බලන්න යන්නට ඉඩ දුන්නේ නෑ. ඒ අනිත් යාළුවන්ටත් අසනීපෙ බෝවෙයි කියලා. ඒ නිසා ගියෙනායි, චෙබුරාෂ්කායි විතරයි මිතුරු හවුලේ ඉතිරි වුණේ.

එක් සැන්දෑවක වැඩමුරය අවසන් වී කිඹුල්හාමි බැහැ දකීමට සතුන් වත්තට යාමට චෙබුරාෂ්කා අදහස් කළා.

ඔහු වීදිය දිගේ ඇවිදගෙන යනවිට ඇඟ පුරා කුණු තවරාගත් පොඩි බලුහාමි කෙනෙක් පාරේ මැද කොටසේ ඉඳගෙන හීනියට උඩුබුරන හැටි දුටුවා.

''ඇයි නුඹ ඔය උඩුබුරන්නේ?''යි චෙබුරාෂ්කා ප්‍රශ්න කළා.

''මං උඩුබුරන්නේ නැහැ. මං අඬනවා.''යි පොඩි බලුහාමි උත්තර දුන්නා.

''ඇයි නුඹ අඬන්නේ?''

ඒත් පොඩි බලුහාමි එයට උත්තර නොදී බොහෝ අනුකම්පා උපදවන අයුරින් දිගටම ඇඬුවා. චෙබුරාෂ්කා බලු හාමි අසලින් ඉඳගෙන ඔහු අඬා ඉවර වෙන තෙක් බලා සිටියා. අන්තිමේදී ඇඩිල්ල බාල වුණා ම මෙසේ ඇහුවා.

''ඉතින් දැන්වත් කියමු බලන්න, නුඹට මොනවද සිද්ධ වුණේ කියලා.''

''මාව ගෙදරින් එලෙව්වා.''

''කවුද නුඹව එලෙව්වෙ?''

''ස්වාමිදුව!'' - පොඩි බලුහාමි තව පාරක් හයියෙන් අඬන්න පටන් ගත්තා.

''ඒ ඇයි?'' වෙබුරාෂ්කා විමසුවා.

''නිකම් ම. මොන හේතුවකට ද කියන්න දන්නෙ නෑ.''

''නුඹේ නම මොකක්ද?''

''තෝබික්'' කී පොඩි බලුහාමි තරමක් සැනසීමට පත් වුණා. එයා තමන් ගේ කෙටි දුක්බර කතාව වෙබුරාෂ්කාට කියන්න පටන් ගත්තා.

## පුංචි බලුහාමි තෝබික්ගේ කෙටි දුක්බර කතාව

ස්වාමිදුව ගේ නිවසට තෝබික්ව රැගෙන එන විට එයා බෙහෝ ම පුංචි ලස්සන හුරු බුහුටි බලු පැටියෙක්.

''අනේ මොන තරම් ලස්සනද?''යි කියමින් ස්වාමිදුව තෝබික් ව අමුත්තන්ට පෙන්නුවා.

''බලන්න අනේ එයා මොන තරම් ලස්සන බලු පැටියෙක් ද!''

සෑම අමුත්තෙක් ම තෝබික් ඉතා ම සුරතල් ලස්සන බලු පැටියෙක් බව පිළිගත්තා. ආයේ ඒකෙ කතා දෙකක් නැහැ.

හැමෝම බලුපැටියාත් සමගින් සෙල්ලම් කළා. සීනිබෝලවලින් එයාට සංග්‍රහ කළා.

කාලය ගෙවී යන විට බලු පැංචා ලොකු මහත් වුණා. දැන් එයා ඉස්සර වගේ හුරුබුහුටි සුරතල් සතෙක් නොවෙයි. දැන් ස්වාමි දුව එයාව අමුත්තන්ට පෙන්වා, ''අනේ මොන තරම් ලස්සන සතෙක්ද''යි කියන්නේ නෑ. දැන් සිදු වන්නේ එහි අනෙක් පැත්ත. ''අනේ මගේ බලු තඩියා මොන තරම් අවලස්සන ද! ඒත් මට එයාව එලවා දමන්න පුළුවන් ද? මට තියෙන්නේ මොන තරම් කරුණාවන්ත හදවතක් ද! එහෙම වුණොත් මිනිත්තු පහක් යන්න කලින් මගේ හදවත දුකෙන් පැළේවි.''

නමුත් එක දවසක් අලුත් බලු පැටියෙක් නිවසට රැගෙන ආවා. ඒ බලු පැටියාත් ඉස්සර තෝබික් වගේ ම ඉතා ම ලස්සන හුරුබුහුටි සතෙක්.

එවිට ස්වාමිදුව දෙවරක් නොසිතා ම තෝබික්ව ගෙයින් එළියට දැම්මා. සත්තු දෙන්නෙක් එකවර හදන්න ඇයට පුළුවන්කමක් තිබුණේ නෑ. ඒත් ඇය ගේ හදවත දුක නිසා මිනිත්තු පහකින් පැළුනේ නැහැ. ඒ වගේ ම හය වැනි මිනිත්තුවේදී වත් පැළුනේ නෑ. අඩු ම තරමේ අට වැනි මිනිත්තුවේදීවත්... සමහර විට කවදාවත් ඒ හදවත පැළෙන එකක් නැහැ...

''දැන් ඉතින් මේ බලුහාමිත් එක්ක මං මොනවද කරන්නේ?''යි චෙබුරාෂ්කා කල්පනා කළා.

සත්තකින් ම බලුහාමිව තමන් සමග කැඳවාගෙන යන්න තිබුණා. ඒත් එයා ගේ යාළුවෝ එය මොන විදියට බාර ගනීද යි චෙබුරාෂ්කා දන්නේ නැහැ. බැරිවෙලාවත් එයාලා බල්ලන්ට අකමැති නම්? කෙසේ වෙතත් බලුහාමිව පාරේ අතඇරලා යන්නත් පුළුවනි. ඒත් චෙබුරාෂ්කාට එයා ගැන බොහොම අනුකම්පා හිතුණා. බැරි වෙලාවත් එළිපහලියේ ඉඳලා බලුහාමිට හෙම්බරිස්සාවක් හෙම හැදුනොත්?

''මේ අහන්න''යි අන්තිමේදී චෙබුරාෂ්කා කිව්වා. ''මෙන්න නුඹට යතුර. දනට මගේ නිවසේ නවාතැන් ගනින්. ඇඟ පත පිරිසිදු කර ගෙන, කඳුළු පිසදා ගෙන උණුසුම් වෙයන්. පසුව අපි මොනවා හරි කල්පනා කර බලමු.''

ඉන් පසුව ඔහු සතුන් වත්ත බලා පිය නැගුවා.



සතුන් වත්තට ඇතුළු වන දොරටුව අසලදී ම චෙබුරාෂ්කාට අහම්බෙන් ගාල්යා මුණ ගැහුණා.

''ජයවේවා!''යි චෙබුරාෂ්කා කෑ ගැහුවා. ''ඒ කියන්නේ, දැන් ඔයාට සනීප ද?''

''සනීපයි.'' ගාල්යා පිළිතුරු දුන්නා. ''මට දැනටමත් ගෙයින් පිට ඇවිදින්න අවසර දුන්නා.''

''ඔයා ටිකක් කෙට්ටු වෙලා.''යි චෙබුරාෂ්කා කිව්වා.

''ඔව්.'' ගැහැණු ළමයා එකඟ වුණා. ''ඒ බව ගොඩක් පේනවද?''

''නැහැ!''යි චෙබුරාෂ්කා හනික කිව්වා. ''කොහොමට වත් පේන්නේ නැහැ. ඔයා චුට්ටම-චුට්ටයි කෙට්ටු වෙලා තියෙන්නේ. ඒක නිකම් මේ... හරිනම් බොහෝ ම ටිකයි... නිකම් චුට්ටක් විතර මහත් වෙලත් වගේ...''

ගාල්යා සැණින් සතුටට පත් වුණා. පසුව ඔවුන් දෙදෙනා ම සතුන් වත්තට ඇතුළු වුණා.

හැමදාමත් මෙන් ගියෙනා පොතක් කියවමින් අව්ව තපිමින් සිටියා.

''අනේ බලන්නකෝ''යි ගාල්යා චෙබුරාෂ්කාට කිව්වා. ''මං හිතුවෙ නැහැ එයා මේ තරම් මහතයි කියලා.''

''ඇත්තමයි.'' චෙබුරාෂ්කා අනුමත කළා. ''එයා හයනාක විදියට මහත් වෙලා. හරියට කකුල් තියෙන ලිංගුස් කරලක් වගේ...! ආයුබෝවන් ගියෙනා!''යි චෙබුරාෂ්කා කිඹුල්හාමිට කතා කළා.

''මම ගියෙනා නෙවෙයි.'' කකුල් තියෙන ලිංගුස් කරලක් වැනි කිඹුල්හාමි අමනාපයෙන් කිව්වා. ''මම වලේරා. මම තමයි මෙහි හවස්වරුව වැඩ කරන්නේ. ඔයාලගේ ගියෙනා ගියා ඇඳුම් ඇඳ ගන්න. එයා දැන් ඒවි.''

මහත කිඹුල්හාමි කේන්තියෙන් අනිත් පැත්තට හැරුණා.

එවිට ම ජැන්ඩි පහට ලස්සන කබායක් සහ තොප්පියක් පැලඳගත් කිඹුල්හාමි එතැනට ආවා.

''ආයුබෝවන්!''යි සිනා පාමින් ඔහු කිව්වා. ''යමුද අපේ දිහා?''

''යමු!''යි ගාල්යා සහ චෙබුරාෂ්කා එකඟ වුණා.

කිඹුල්හාමි ගේ නිවසේ කාලය ගත කිරීම ඔවුන් දෙදෙනාට බොහෝ ම සිත්ගත් දෙයක් වුණා.

ගියෙනා ගේ නිවසේදී ඔවුන් කෝපි පානය කළා. විවිධ සෙල්ලම්වල නිරත වුණා.

චෙබුරාෂ්කා සෑම මිනිත්තුවක් පාසා ම සිය බලුහාමි ගැන ඔවුන්ට විස්තර කරන්නට වෑයම් කළා. ඒත් ඒ සඳහා සුදුසු අවස්ථාවක් සොයා ගන්න බැරි වුණා.

එවිට එක්වර ම කවුදෝ කෙනෙක් දොරේ සීනුව නාද කළා.

''එන්න ඇතුළට''යි ගියෙනා කිව්වා.

ලොකු ම ලොකු සිංහයෙක් කාමරයට ඇතුළු වුණා. එයා තොප්පියක් හිස පැලඳ ඇස්කණ්ණාඩි කුට්ටමක් දාලයි හිටියේ.

''චන්ද්‍ර සිංහරාල''යි ඔහු තමන්ව හඳුන්වා දුන්නා.

මිතුරෝ ඔහුට ආචාර කළා.

''කරුණාකරලා කියනවද, මිතුරන් උවමනා කර තිබෙන කිඹුල්හාමි වාසය කරන්නේ මෙහිද?''යි අමුත්තා ප්‍රශ්න කළා.

''මෙහි තමයි.'' ගියෙනා උත්තර දුන්නා. ''එයා වාසය කරන්නේ මෙහි තමයි. හැබැයි එයාට දැන් මිතුරන් උවමනා නැහැ. එයාට දැනටමත් මිතුරන් ඉන්නවා.''

''බොහොම කණගාටුයි!'' සුසුම් ලෑ සිංහරාල පිටවී යන්නට දොර දෙසට ගියා. ''ගිහින් එන්නම්.''

''ඔහොම නවතින්න''යි චෙබුරාෂ්කා ඔහුව නැවැත්වුවා. ''ඔබට මොන වගේ මිතුරෙක් ද උවමනා?''

''දන්නේ නැහැ.''යි සිංහරාල උත්තර දුන්නා. ''ඕන මිතුරෙක්. එච්චරයි.''

''හිතෙන හැටියට මට හැකි වේවි ඔබට උපකාර කිරීමට.''යි චෙබුරාෂ්කා කිව්වා. ''මම ටික් - ගාලා ගෙදරට දුවලා එනකම් ඔහොම පොඩ්ඩක් ඉන්න, හොඳේ''

මඳ වේලාවකින් චෙබුරාෂ්කා ආපසු පැමිණියා. එයා කඳුළු පිස දා ගෙන පිරිසිදු වෙලා සිටි තෝබික්ව කරපටියෙන් අල්ලාගෙන ආවා.

''මෙන්න මම සොයා ගත් කෙනා.''යි ඔහු කීවා. ''මං හිතන්නේ දෙන්නට දෙන්නා හොඳට ගැළපෙනවා.''

''ඒත්, එයා පුංචි බලුහාමි කෙනෙක් නොවැ.''යි සිංහරාල විරුද්ධ වුණා. ''බලන්න මං මොන තරම් ලොකු ද?''

''එය කණගාටුවට කාරණයක් නොවෙයි. ඔබට හැකිවේවි එයාව ආරක්ෂා කරන්න.''යි චෙබුරාෂ්කා කිව්වා.

''ඒක නම් ඇත්ත තමා.''යි චන්දර් සිංහරාල අනුමත කළා. ''ආ... එතකොට නුඹට මොනවද කරන්න පුළුවන්?'' ඔහු තෝබික් ගෙන් ඇහුවා.

''මොකවත් බැහැ.''යි තෝබික් උත්තර දුන්නා.

''මං හිතන්නේ එය වුණත් කණගාටුවට කාරණයක් නොවෙයි.'' ගාල්යා සිංහරාලට කිව්වා. ''ඔයාට පුළුවන් කැමති ඕන දෙයක් එයාට උගන්වන්න.''

''ඇත්තමයි. එයාලා හරි තමයි.'' චන්දර් කල්පනා කළා. ''අන්න හොඳයි. නුඹ සමග මං මිතුරු වෙන්නම්. එතකොට නුඹ?''යි චන්දර් තෝබික් ගෙන් ඇහුවා.

''මමත්!'' තෝබික් වලිගය වනමින් කිව්වා. ''මම හොඳම හොඳ සොහොයුරෙක් වීමට උත්සාහ කරන්නම්!''

අලුත් මිතුරන් දෙදෙනා නිවසේ සිටි සැමට ස්තුති කොට පිට වී ගියා.

''හපනා''යි ඔවුන් දෙදෙනා පිට වී ගිය සැණින් චෙබුරාෂ්කාට ප්‍රශංසා කරමින් ගාල්යා කිව්වා. ''නුඹ තැනට සුදුසු ලෙස වැඩේ නියමෙට කළා.''

''ආ... ඒක මොකක්ද?''යි කුළෑටි වෙමින් චෙබුරාෂ්කා කිව්වා. ''ඒ ගැන ප්‍රශංසා කරන්න ඕන නැහැ.''

''ඔයාලා දන්නවද?''යි එක්වර ම ගාල්යා ඇහුවා. ''අපේ මේ නගරයේ තවත් එවැනි හුදකලා චන්දර්ලා සහ තෝබික්ලා කී දෙනෙක් ඉන්නවද කියලා?''

''කී දෙනෙක් ද?''යි චෙබුරාෂ්කා ඇහුවා.

''ගොඩක්.''යි ගැහැණු ළමයා කිව්වා. ''එයාලාට යාළුවෝ ඇත්තෙ ම නැහැ. උපන් දිනය දාට එයාලා බලන්න කවුරුවත් එන්නේ නැහැ. ඒ වගේ ම දුක හිතුන වෙලාවට එයාලාව සනසවන්න කවුරුවත් නැහැ...''

ගියෙනා ඇගේ කතාව ඉතා ම දුක්බර ව අසා සිටියා. ලොකු වීදුරු බෝල වගේ කඳුළු බිඳුවක් ඔහු ගේ දෙනෙතේ මතු වුණා. ඒ දෙස බලා සිටි චෙබුරාෂ්කාටත් අඬන්න ඕන වුණා. ඒත් එයාගෙ ඇස්වලින් මතු වුණේ

පුංචි ම පුංචි කඳුළු බිඳුවක්. ඒ පුංචි කඳුළු බිංදුව කාටවත් පෙන්වන්න එයාට ලැජ්ජා හිතුණා.

''අනේ අපි මොනවද කරන්න ඕනෑ?''යි කිඹුල්හාමි කෑ ගැහුවා. ''මට ඕන එයාලට උදව් කරන්න.''

''මටත් ඕන උදව් කරන්න.''යි කිඹුල්හාමි ගේ උදව්වට චෙබුරාෂ්කාත් ඉදිරිපත් වුණා. ''ඇයි මට දුක නැද්ද? ඒත් කොහොමද අපි උදව් කරන්නේ? ''

''බොහොම ලේසියි.'' ගාල්යා කිව්වා. ''එයාලා හැමෝම එකිනෙකා සමගින් යාළු කරවන්න අවශ්‍යයි.''

''කොහොමද ඉතින් එයාලාව යාළු කරවන්නේ?''යි චෙබුරාෂ්කා ඇහුවා.

''දන්නේ නැහැ.''යි ගාල්යා උත්තර දුන්නා.

''ඔන්න මං ඒ ගැන කල්පනා කළා.''යි ගියෙනා දැනුම් දුන්නා. ''ඔවුන් හැමට ම අප කරා එන ලෙස දන්වා දැන්වීමක් ලියන්න ඕන. එවිට අපි ඔවුන් එකිනෙකා මිතුරු කරවමු!''

ඒ අදහස හැමෝගෙම සිත් ගත්තා. මිතුරන් එක් වී එය ක්‍රියාවට නංවන්න පටන් ගත්තා. ඔවුන් නගරය පුරා දැන්වීම් එල්ලුවා. තමන් සොයා එන සැම කෙනෙකුට ම සැබෑ සොහොයුරෙක් සොයා දීමට ඔවුන් වෑයම් කළා. ඒ අනුව කිඹුල්හාමි ගේ නිවස - 'මිතුරු නිවස' ලෙස නම් කිරීමට තීරණය වුණා.

''එහෙනම් අපි හෙට ඉඳලා ම වැඩ පටන් ගනිමු!''යි ගියෙනා බොහොම සන්තෝෂයෙන් කිව්වා.

සුදා සැඳෑවේ ගජරාමෙට වැඩ සිදු වුණා. දැන්වීම් කලාව පිළිබඳ විශේෂඥයෙකු මෙන් කිඹුල්හාමි බැරෑරුම් ලෙස මේසයේ හිඳගෙන ලියන්න පටන් ගත්තා.

> **'මිතුරු නිවස' විවෘත කරන ලදී.**
> **මිතුරෙකු උවමනා ඕනෑම කෙනෙක්**
> **අප වෙත පැමිණෙන්න.!**

එම දැන්වීම් මිටිය අතට ගත් චෙබුරාෂ්කා වීදියට දිව ගියා. ඔහු ඒ දැන්වීම් අතට හසුවන සෑම තැනක ම ඇලෙව්වා. අලවන්න පුළුවන් තැන්වලයි, අලවන්න තහනම් තැන්වලයි. නිවෙස්වල බිත්ති මත, වැටවල් සහ තාප්ප මත වගේම, අසලින් දිව යන අශ්වයන් ගේ පිට මත පවා දැන්වීම් ඇලෙව්වා.

ඒ අතරේ ගාල්යා නිවස අස්පස් කළා. ඉන් අනතුරුව ඇය කාමරය මැද්දේ පුටුවක් තබා එහි පුවරුවක් එල්ලුවා.

> **අමුත්තන් සඳහා**

පසුව මිතුරන් දිවානය මත හිඳ මඳක් විවේක ගත්තා.

එක්වර ම ඉදිරිපස දොරටුවෙන් හීන් කිරි කිරී හඬක් නැඟුණා. හීන්දෑරි කඩිසර පුංචි මැහැල්ලක් හීන් සැරේ රිංගා කාමරයට ඇතුළු වුණා. එයා ලොකු අළුපාට මීයෙක් ලණුවකින් ගැට ගහගෙනයි ආවේ.



ගාල්යා මරහඬ දෙමින් දිවානය මතට නැග ගත්තා. ගියෙනා හුන් තැනින් බිම වැටී, දනි පනි ගා දිව ගොස් ඇඳුම් අල්මාරිය තුළට වැදී 'දඩාස්' ගා දොර වසා ගත්තා. හැබැයි චෙබුරාෂ්කා විතරක් සන්සුන් ව දිවානය මත හිඳ සිටියා. එයා කවදාවත් මීයෙක් දැක තිබුණේ නැහැ. ඒ නිසා ම එයා දැන සිටියේ නැහැ, මීයන්ට බය වෙන සිරිතක් තියෙනවා කියලා.

''ලරීස්කා, නියමිත තැනට යනු''යි මැහැල්ල මීයාට අණ දුන්නා.

මී හාමි හනික ස්වාමිදුව ගේ අතේ එල්ලාගෙන සිටි මල්ල තුළට රිංගුවා. දැන් එයා ගේ පබළු වැනි ඇස් සහ දිග රැවුළ විතරක් මල්ලෙන් එළියට දික් වෙලා තිබුණා.

ටිකෙන් ටික හැමෝ ම සන්සුන් වුණා. ගාල්යා යළිත් දිවානයෙන් බැහැලා හිඳ ගත්තා. ගියෙනා අල්මාරිය ඇතුළෙන් එළියට ආවා. එයා ගේ ගෙලේ අලුත් ටයි පටියක්. හරියට ටයි පටියක් පැලඳ ගන්න එයා අල්මාරියට රිංගුවා වගේ අඟවන්න වුණා.

ඒ අතරේ ''අමුත්තන් සඳහා'' පුවරුව සහිත පුටුව මත මැහැල්ල හිඳ ගත්තා.

''කවුද ඔහේලා අතරින් කිඹුල්හාමි?''යි ඇය ප්‍රශ්න කළා.

''මමයි'' ටයි පටිය සකස් කරගනිමින් ගියෙනා උත්තර දුන්නා.



''ඒක හොඳයි'' කී මැහැල්ල කල්පනා කරන්න වුණා.

''හොඳ මොනවද?''යි ගියෙනා ඇහුවා.

''හොඳයි ඔබ කොළ පාට සහ පැතලි වීම.''

''මම කොළපාට වීම සහ පැතලි වීමේ තියෙන හොඳේ මොකක්ද?''

''ඒ ඔබ තණ කොළ ගොල්ලේ වැතිරී සිටින විට කාටවත් ඔබව එක පාර නොපෙනෙන නිසා.''

''ඇයි මම තණ කොළ ගොල්ලේ වැතිරී සිටිය යුතු?''යි යළිත් වරක් කිඹුල්හාමි ප්‍රශ්න කළා.

''ඒ ගැන ඔබ පසුව දැන ගනීවි.''

''හැබැට ම ඔබ කවුද?''යි ගාල්යා අන්තිමේදී කතාවට මැදිහත් වුණා. ''ඔබ මොනවද කරන්නේ?''

''මගේ නම කුණකටු ආච්චි.''යි මැහැල්ල තමා හඳුන්වා දුන්නා. ''මම නපුර කරනවා.''

''නපුර නෙවෙයි. නපුරු වැඩ ''යි ගාල්යා ඇයව නිවැරදි කළා. ''ඒත් ඒ මොකටද?''

''ඈ... ඒ මොකටද? මට ඕන නමක් දිනා ගන්න.''

''එහෙනම් ඉතින් හොඳ වැඩ කළා නම් ඉවරයිනේ...?''යි ගියෙනා කිඹුල්හාමි කිව්වා.

''බැහැ.''යි මැහැල්ල පිළිතුරු දුන්නා. ''හොඳ වැඩ කරලා නමක් දිනා ගන්න බැහැ. මම දවසකට නපුරු වැඩ පහක් කරනවා. මට අත් උදව්කාරයෝ අවශ්‍යයි.''

''මොනවද ඔබ කරන්නේ?''

''මහ ගොඩක් දේවල්. පරවියන්ට කැටපෝලෙන් ගල් විදිනවා. පාරේ යන එන අයට කවුළුවෙන් වතුර වත්කරනවා. හැමදාම හැම වෙලාවෙ ම කහ ඉර නැති තැන්වලින් පාර පනිනවා.''යි මැහැල්ල කිව්වා.

''හරි. ඒ සේරම හොඳයි කියමුකෝ.''යි කිඹුල්හාමි නොඉවසිල්ලෙන් උඩ පැන්නා. ''ඒත් මම ඇයි තණ කොළ ගොල්ලේ වැතිරී ඉන්න ඕනේ?''

''බොහොම පොඩි දේකට''යි කුණකටු ආච්චි පැහැදිලි කරන්නට පටන් ගත්තා. ''ඔයා තණ කොළ ගොල්ලේ වැතිරී සිටින විට කාටවත් ඔයාව එක්වර ම පේන්නේ නැහැ. ඒ මොකද ඔයා කොළ පාටයි. පැතලියි. අපි පසුම්බියක් නූලක ගැට ගහලා එය පාර මැද්දට දානවා. ඔන්න මගියෙක් පසුම්බිය දැකලා එය අහුලා ගන්න නැවෙන කොට ම ඔයා එක පාරට ම පසුම්බිය කට ළඟට ඇදලා ගන්නවා. කොහොමද වැඩේ? මම තියමෙට සැලසුම් කළා නේද?''

''අනේ බැහැ.''යි ගියෙනා අමනාපයෙන් කිව්වා. ''ඒ වැඩේ මට පොඩ්ඩක්වත් හිතට ඇල්ලුවේ නැහැ! ඒ මදිවට තණ කොළ ගොල්ලේ වැතිරී සිටියොත් හෙම්බිරිස්සාව වුණත් හැදෙන්න පුළුවන්.''

''අපට ඔබ සමග එක් වී වැඩ කරන්න බැරි වෙයි වගේ.''යි අමුත්තිය වෙත නැඹුරු වෙමින් ගාල්යා කිව්වා. ''අපි වෙනත් විදියකටයි වැඩ කරන්නේ. අපි කැමති යහපත් හොඳ වැඩවලට විතරයි. අඩු තරමේ අපි 'මිතුරු නිවසක්' පවා සංවිධානය කරනවා.''

''මොනවා??'' මැහැල්ල මොර දුන්නා. ''මිතුරු නිවසක්? ඒක එහෙම නම් මම ඔහේලට විරුද්ධ ව යුද්ධ ප්‍රකාශ කරනවා. ගොහිං එන්නං!''

''නවතින්න.''යි කිඹුල්හාමි ඇය නවත්වමින් කිව්වා. ''ඔබට ඕනෑ ම කෙනෙකුට යුද්ධ ප්‍රකාශ කිරීම ප්‍රශ්නයක් නොවෙයිද?''

''ඇත්තෙන් ම ප්‍රශ්නයක් නොවෙයි.''

''එහෙම නම් අපට නෙවෙයි, වෙන කාට හරි යුද්ධ ප්‍රකශ කරන්න. අපට ඕනෑවටත් වඩා වැඩ තියෙනවා.''

''මට කැමති ඕන කෙනෙකුට යුද්ධ ප්‍රකාශ කළ හැකියි. මගෙන් කිසිම අනුකම්පාවක් නැහැ.''යි කී මැහැල්ල මී හාමිනේ අමතා අණ දුන්නා. ''ලරිස්කා, යමන් යන්න!''

ඉදින් ඔවුන් දෙදෙනා දොරටුවෙන් නොපෙනී ගියා.

පසු දින සවස අමුත්තන් පිළිගැනීම භාරව සිටියේ ගාල්යා යි. ගියෙනා සහ චෙබුරාෂ්කා පසෙකට වී හිඳ දාම් සෙල්ලම් කළා.

දොරේ සීනුව කලබලයෙන් නාද වුණා. එළිපත්ත මත පිරිමි ළමයෙක් පෙනී සිටියා. අවුල් කිළිටි පෙනුමෙන් යුක්ත නොවුණා නම්, ඔහු ඉතා ම සාමාන්‍ය ළමයෙක් ලෙස හඳුන්වන්න තිබුණා.

''මෙහි මිතුරන් දෙනවද?''යි ආයුබෝවන් නොකියා ම ඔහු ප්‍රශ්න කළා.

''මිතුරන් දෙන්නේ නැහැ. සොයා දෙනවා.''යි ගාල්යා ඔහුව නිවැරදි කළා.

''ඒ කතාවෙන් වැඩක් නැහැ... ඒ මෙහි ද? නැද්ද?''

''මෙහි තමා''යි ගාල්යා ඔහුව අස්වැසුවා.

''මොන වගේ මිතුරෙක් ද නුඹට උවමනා?''යි කිඹුල්හාමි කතාවට මැදිහත් වෙමින් ඇහුවා.

''මට ඕන... මට ඕන...''යි පිරිමි ළමයාගේ දෙනෙත් දිලිසෙන්න පටන් ගත්තා. ''මට ඕන... බිංදුවෙක්''

''මොන වගේ බිංදුවෙක් ද?''

''පල් ම පල්''

''නුඹට මොකටද පල් ම පල් බිංදුවෙක්?''

''මට මොකටද? ආයෙ පාරක් නුඹේ ප්‍රගති වාර්තා පොතේ බිංදු හයක්! කියලා අම්මා මට බනින කොට, මට පුළුවන් උත්තර දෙන්න - අයියෝ බිංදු හයක් මොන කජ්ජක්ද? ඔන්න මගේ යාළුවෙක් ඉන්නවා බිංදු අටක් ම තියෙන! තේරුණාද?''



''තේරුණා.''යි කිඹුල්හාමි කිව්වා. ''ඒ වගේ ම තව පොර කුකුළෙකුත් සොයා ගත්තොත් නරකද?''

''ඒ මොකටද?'' පිරිමි ළමයා ප්‍රශ්න කළා.

''ඒ මොකටද? නුඹ ගෙදර ගියා ම අම්මා බැන්නොත් ''ආයෙත් පාරක් ගුටි ගහගෙන නළල ගෙඩි ගහගත්තා නේද?'' කියලා. නුඹට කියන්න පුළුවනි, ''අයියෝ ඒක මොන කජ්ජක්ද? ඔන්න මට ඉන්නවා එක යාළුවෙක්, නළලෙ ගෙඩි හතරක් ම ගහ ගත්තු''

''හරියට ම හරි''යි පිරිමි ළමයා සතුටින් කෑ ගැහුවා. එයා බොහොම ගෞරවයෙන් කිඹුල්හාමි දිහා බැලුවා. ''ඒ වගේ ම එයාට හොඳට කැටපෝලෙන් විදින්න පුළුවන් වෙන්නත් ඕන. ඒ මොකද? මට බනින කොට, 'ආයෙත් පාරක් නුඹ අනුන්ගෙ වීදුරු ක්වුළු බින්දා නේද?' කියලා, මට පුළුවනි කියන්න, 'අයියෝ කවුළුවක් මොන කජ්ජක්ද? ඔන්න මගේ

එක යාළුවෙක් ඉන්නවා, එයා කවුළු දෙකක් ම බින්දා! එහෙම කිව්වා ම හරි නේද?''

''හරියට හරි''යි ගියෙනා ඔහුට අනුබල දුන්නා.

''ඒ වගේ ම වැදගත් ම දෙය - එයා හොඳ හැදිච්ච ළමයෙක් වෙන්නත් ඕන.''

''ඒ ඇයි?'' ගාල්යා ඇහුවා.

''ඒ ඇයි? අම්මා මට අවසර දෙන්නේ නැහැ, නරක ළමයි ඇසුරු කිරීමට.''

''අපූරුයි'' ගාල්යා කිව්වා. ''මම නුඹව නිවැරදිව තේරුම් ගත්තොත්, නුඹට අවශ්‍ය හොඳ හැදිච්ච රණ්ඩුවට බර බිංදුවෙක්.''

''සත්තකින් ම.''යි පිරිමි ළමයා සනාථ කළා.

''එහෙම නම් ඔයා හෙට එන්න. කුමන හෝ විසඳුමක් ලබා දෙන්න අපි වෑයම් කරන්නම්.''

ඉන් පසුව කිළිටි අමුත්තා බොහොම උදාර ලීලාවෙන් පිට වී ගියා. සැබැවින් ම සමුගැනීමක් පවා රහිත ව.

''දැන් ඉතින් අපි මොකද කරන්නේ?''යි ගාල්යා ඇහුවා. ''මට හිතෙන හැටියට අපි එයාට හොඳ ළමයෙක් මිස චණ්ඩියෙක් නොවෙයි සොයා දෙන්න ඕන. ඒ මොකද එයාව හරි මඟට ගන්න.''

''අපෝ බැහැ.''යි ගියෙනා විරුද්ධ වුණා. ''අපි නොවරදවා ම ඔහු ඉල්ලා සිටි කෙනා සොයා දිය යුතුයි. එහෙම නැතිනම් එය රැවටීමක්. මම හැදිලා තියෙන්නේ ඒ විදියට නොවෙයි.''

''මුළුමනින් ම නිවැරදියි.'' චෙබුරාෂ්කා කිව්වා. ''ඔහුට උවමනා කෙනා තමයි සොයා දෙන්න ඕනෑ... නැතිනම් ඒ ළමයා අඬාවි.

''හොඳයි'' ගාල්යා එකඟ වුණා. ''හොඳයි දැන් කවුද ඒ රාජකාරිය බාර ගන්නේ?''

''මම බාර ගන්නම්!'' චෙබුරාෂ්කා ප්‍රකාශ කළා. ඔහු හැමදාම අමාරු රාජකාරිය බාර ගැනීමට උත්සාහ කළා.

''මමත් බාර ගන්නම්.''යි කිඹුල්හාමි කිව්වා. චෙබුරාෂ්කාට උදව් කිරීමට එයාට බොහොම ලොකු උවමනාවක් තිබුණා.

ඔන්න අපේ වීරයන් දෙදෙනා වැඩි හදිසියක් නැතිව සෙමෙන් සෙමෙන් පාර දිගේ ඇවිද ගෙන ගියා. ඔවුන් දෙදෙනා බොහොම කැමතියි කතා බහ කරමින් පයින් ඇවිදින්න.

එහෙත් එක පාරට ම - 'බුම්...ම්...ම්...' හඬක් ඇසුණා. ඒත් එක්කම කිඹුල් හාමි ගේ හිසට කවුදෝ ටොක්කක් ඇන්නා.

''ඒ නුඹද?''යි ගියෙනා චෙබුරාෂ්කා ගෙන් ඇහුවා.

''මම? මොනවද?''

''නුඹ නොවෙයිද මට ගැහුවේ?''

''නැහැ''යි චෙබුරාෂ්කා උත්තර දුන්නා. ''මම කාටවත් ගැහුවේ නැහැ.''

හරියට ම ඒ මොහොතේදී ම නැවත වරක් 'බුම්...ම්...ම්...' හඬ ඇහුණා. ඒ පාර බොහොම රිදෙන්න ටොක්කක් චෙබුරාෂ්කාට කවුදෝ ඇන්නා.

''අන්න දැක්කද?''යි ඔහු කිව්වා. ''මටත් ටොක්කක් ඇන්නා.''

''කොහොමද මේ වගේ දෙයක් වෙන්නේ?''යි චෙබුරාෂ්කා වටපිට බලමින් ඇහුවා.

ලී තාප්පය මත හිඳගෙන සිටින බොහෝ ම දන්නා හඳුනන මීයෙක්ව ඔහු එක්වර ම දුටුවා.

''බලාපල්ලකෝ''යි ඔහු කිඹුල්හාමිට කිව්වා. ''අර කුණකටු ආච්චි ගේ මී හාමිනේ නේද? දැන් මම දන්නවා අපට පහර දුන් කෙනා.''

චෙබුරාෂ්කා නිවැරදි බව පෙනී ගියා. ඇත්ත වශයෙන් ම ඒ කුණකටු ආච්චිගෙ වැඩක් තමයි.

ඇය සිය හීලෑ ලරිස්කා මී හාමිනේ සමගින් ඇවිදිමින් සිටින විට අහම්බෙන් ගියෙනා සහ චෙබුරාෂ්කාව දුටුවා. මිතුරන් දෙදෙනා බොහොම සන්තෝෂයෙන් පිය නගන අයුරු දුටු කුණකටු ආච්චිට කුමක් හෝ එදිරිවාදිකමක් ඔවුන් දෙදෙනාට කිරීමට හිත දුන්නා. එම නිසා ඇය මී හාමිනේවත් කිහිලි ගන්නා ගෙන, මිතුරන් දෙදෙනා පසුපස හඬාවිත් ලී තාප්පයට එහා ගෙවත්තක් තුළ රැක සිටියා.

මිතුරන් දෙදෙනා සමීපවත් ම ඇය සිය සාක්කුවෙන් රබර් පටියකට සවි කළ කඩදාසි පන්දුවක් අතට ගෙන ඉන් මිතුරන් ගේ හිස්වලට පහර දුන්නා. රබර් පටියේ එක් කොනක් ඇගේ ඇඟිල්ලේ ගැට ගසා තිබූ නිසා කඩදාසි පන්දුව වැට උඩින් ඉගිළී විත් චෙබුරාෂ්කා ගේ හෝ ගියෙනා ගේ හිසට පහර දී යළිත් ඇය ගේ අතට ම හැරී ආවා.

මෙ අතර ලරිස්කා මී හාමිනේ වැට උඩ හිඳ ප්‍රහාරය නිවැරදි දිශාවට යොමු කළා.

නමුත් 'ඊළඟ පාර පන්දුව පැමිණෙනවාත් සමග ම ගියෙනා හනික එය දත්වලින් සපා අල්ලා ගත්තා. පසුව ඔහු චෙබුරාෂ්කා සමගින් එකතු වී සෙමෙන් සෙමෙන් පාරේ අනෙක් පසට එය අදින්නට වුණා.

දැන් රබර් පටිය කිටි කිටියේ බොහොම තදින් ඇදිලයි තිබෙන්නේ. ඔන්න එවිට පන්දුවට මක් වුණාදැයි බැලීමට කුණකටු ආච්චි සැඟවී සිටි තැනින් මූණ එළියට දම්මා විතරයි, චෙබුරාෂ්කා අණ දුන්නා - ''පහර දෙනු!'' එවිට ම ගියෙනා දත් බුරුල් කළා.

පන්දුව 'රුං' ගා වීදිය හරහා ඉගිළී ගොස් ටක්කෙට ම සිය ස්වාමිදුවට ම වැදුණා. මැහැල්ල සුළං පහරට ගසා ගෙන ගියා වගේ වැට උඩින් බිමට වැටුණා.

අන්තිමේ දී ඇය යළිත් වරක් නැගී සිට තාප්පයට උඩින් එබී බැලුවා. දැන් ඇගේ මනෝභාවය තිබුණාට වඩා දස ගුණයක් රණකාමී වෙලා.

''දාමරිකයෝ! මංකොල්ලකාරයෝ! කාලකණ්ණි මිනීමරුවෝ!''යි ඇයට මුළුහදින් ම කෑ ගා බණින් ට උවමනා වුණා. එහෙත් නොහැකියි. ඒ මන්ද යත් ඇගේ මුඛයේ කඩදාසි පන්දුව සිරවෙලයි තිබුණේ.

කෝපයෙන් වියරු වැටුණු කුණකටු ආච්චි පන්දුව ඇද දමන්න වෑයම් කළා. එහෙත් මක් නිසා හෝ එය මුඛය තුළ හිර වෙලා. ගලවා දමන්න බැහැ.

දැන් ඉතින් ඇයට කරන්නට ඉතිරිව ඇත්තේ කුමක්ද?

ප්‍රසිද්ධ දොස්තර ඉවානොව් සොයා රෝහලට දුවන්නට ඇයට සිදු වුණා.

''පත්, පත්, පත්!'' ඇය දොස්තර ළඟට ගොස් හඬ නැඟුවා.

''පත්, පත්, පත්?'' දොස්තර පෙරළා ප්‍රශ්න කළා.

''පත්, පත්, පත්!''

''නැහැ, මං පත්වලින් මොනවත් වියන්නේ නැහැ''යි දොස්තර කිව්වා.

''නෑ පත් නොවෙයි, පත් පත්, පත්''යි මැහැල්ල යළිත් කටින් නොපැහැදිලි හඬක් පිට කළා. ''පත්ගුව''

''මොන පත්ගුව ද? මගේ හිතේ ඔහේ විදේශීය කාන්තාවක් වෙන්න ඕනැ''යි දොස්තර අනුමාන කරමින් කිව්වා.

''ඔව්! ඔව්!''යි කුණකටු ආච්චි සතුටින් ඔළුව වනා අනුමත කළා.

ඇයට බොහොම සතුටුයි ඇය විදේශීය කාන්තාවක් හැටියට සලකනවාට.

''ඒත් මං විදේශිකයන්ට බෙහෙත් කරන්නේ නෑ...''යි දැනුම් දුන් ඉවානොව් දොස්තර තැන ඇයව දොරෙන් එළියට දැම්මා.

එලෙස ඇය මුළු හවස් කාලය ම එක වචනයක් වත් දොඩන්නට නොහැකිව තප්පුලමින් ගත කළා. ඒ මුළු කාලය පුරාම ඇය ගේ මුව තුළ චෙබුරාෂ්කාටත් කිඹුල්හාමිටත් බැණ වැදීමට පරුෂ වචන මහා තොගයක් ගොඩ ගැසී තිබුණා. අන්තිමේ දී ඇගේ මුඛයෙන් පත්ගුව ඉවත් වූ විට, අන්තිම කඩදාසි රොඩ්ඩත් සමග මුළු කට ම පුරවලා මෙන්න මේ බැණුම එළියට පැන්නා.

''දාමරිකයො මැරවරයො මම තොපිට උගන්නවන්නම් යස පාඩමක් ආයෙන අමතක නොවෙන්න ජීවිතේටම කාලකන්නි කිඹුලා තොට හොඳක් නම් සිද්ධ වෙන්න එපා!!!''

ඒත් ඒ ඔක්කෝම නම් නොවෙයි. බැණුම්වලින් කොටසක් රබර් පටියත් එක්ක ම 'ගුඩුස්' ගාලා ඇයට ගිලුණා.

ගියෙනා සහ චෙබුරාෂ්කා විවිධාකාර පාසල්වලට දිවගොස් එම පාසල්වල පල් ම පල් බිංදුවන් සහ පොර කුකුළන් සිටීදැයි මුරකරුවන් ගෙන් විමසුවා. එහෙත් මුරකරුවන් සැවොම එක වගේ මිනිසුන් වුණා. ඔවුන් හැමෝම බිංදුකාරයන් සහ චණ්ඩින් ගැන කතා කිරීමට වඩා විශිෂ්ටයන් සහ හැදිච්ච ළමයි ගැන කතා කිරීමට ආශා කළා. ඔවුන් ගේ විස්තරයට අනුව එකී පාසල්වලට පැමිණෙන සෑම ළමයෙක් ම වාගේ හොඳින් ඉගෙන ගන්නා, සැලකිය යුතු ආචාරශීලි ළමුන් පිරිසක් බවත්, ඔවුන් සෑම දිනයක ම දත් සෝදන බවත්, ඇතැම් ළමුන් ගෙල පවා සෝදන බවත් පැහැදිලි වුණා.

කෙසේ වෙතත් චණ්ඩින් කිහිප දෙනෙක් සොයා ගැනීමට ද හැකි වුණා. එහෙත් එයාලගේ චණ්ඩිකම් මොනවා ද? සතියකට එක් කවුළුවක් පමණක් ගල් ගසා බිඳීම, ප්‍රගති වාර්තා පොතේ බිංදු දෙකක් පමණක් තිබීම.

අන්තිමේ දී කිඹුල්හාමි ප්‍රීතියෙන් පිනා ගියා. එක් පාසලක ඉතා ම අනර්ඝ සිසුවෙක් ඉගෙන ගන්නා බව ඔහු සොයා ගත්තා. ඔහු වැඩේට හරියට ම හරි යන බව පෙනී ගියා. පළමු කාරණය - ඔහු පට්ට පල් මෝඩයෙක්. දෙවැනි කාරණය - ඔහු භයානක පොර කුකුළෙක්. තුන්වැනි කාරණය - ඔහු මාසයකට බිංදු හයක් ම ගැනීමයි. ඔහු නම් හරියට ම ගැළපෙන කෙනාමයි. ගියෙනා කොළ කෑල්ලක ඒ ළමයා ගේ නම සහ ලිපිනය ලියා ගත්තා. ඉන් පසු ඔහු ඉතා ම සොම්නසින් නිවස බලා පිය නැගුවා.

එහෙත් චෙබුරාෂ්කාට සතුටු වෙන්න හැකි වුණේ ඊට වඩා ටිකක් අඩුවෙන්.

ඔහුත් එවැනි ම උවමනා කරන ජාතියේ ළමයෙක් සොයා ගත්තා. ළමයෙක් නොවෙයි, නිධානයක්! අසමත්වීම් නිසා දෙවරක් ම එක පංතියේ සිටින කෙනෙක්. සැබෑ කරදරකාරයෙක්! සපා කන්නෙක්! පාසල් නොගොස්

කට්ටි පනින්නෙක්! හොඳ පවුලකින් පැවත එන, මසකට බිංදු අටක් ගන්නා පල් ම පල් බිංදුවෙක්. එහෙත් කණගාටුවකට මෙන් එම ළමයා බිංදු දහයකට අඩු කිසිම ළමයෙක් සමගින් ආශ්‍රය කිරීම තදින් ම ප්‍රතික්ෂේප කළා. ඒ වගේ කෙනෙක් නම් කොහෙන්වත් සොයාගත නොහැකියි. එම නිසා චෙබුරාෂ්කා බොහොම හිතේ අමාරුවෙන් හා කලකිරීමෙන් ගෙදර ගොස් ගුලි ගැසී නිදා ගත්තා.



ඊළඟ දිනයේ කිලිටි පිරිමි ළමයා යළිත් ඔවුන් ඉදිරියේ පෙනී සිටියා.

''ඉතින් සොයා ගත්තාද?''යි හැමදාමත් මෙන් ආයුබෝවන් කියන්නට අමතක කරමින් ඔහු ගාල්යා ගෙන් ප්‍රශ්න කළා.

''සොයා ගත්තා.''යි ගාල්යා පිළිතුරු දුන්නා. ''ජේන හැටියට හරියට ම හරියන කොල්ලෙක්''

''පළමු කාරණය - එයා නොම්මර එකේ රස්තියාදුකාරයෙක්.'' කිඹුල්හාමි කිව්වා.

''ඒක හොඳයි.''

''දෙවැනි කාරණය - භයානක පොර කුකුළෙක්''

''ඒක නම් නියමයි.''

''තුන්වැනි කාරණය - මාසෙකට බිංදු හයක් ම ගන්නවා. ඒ වගේ ම නරක විදියට කිලිටි කර ගන්නවා.''

''බිංදු නම් ටිකක් මදි වගේ.''යි තක්සේරු කරමින් අමුත්තා කිව්වා. ''ඉතිරි කාරණා නම් නියමෙට ගැළපෙනවා.''

''කීයේ පන්තියේ ද එයා ඉගෙන ගන්නේ.?''

''පහේ පන්තියේ.''යි ගියෙනා පිළිතුරු දුන්නා.

''පහේ පන්තියේ?''යි මවිතයට පත් වෙමින් කොල්ලා ප්‍රශ්න කළා. ''මොකක්ද එයාගෙ නම හැබැටම?''

''එයාගෙ නම දීමා.''යි කී කිඹුල්හාමි කඩදාසිය දෙස බැලුවා. ''පල් ම පල් මෝඩයා. ඉතින් ඊට වඩා වෙන මොනවද?''

''වෙන මොනවද? වෙන මොනවද?''යි සිත් තැවිලෙන් කොලුවා කිව්වා. ''ඒක නම් කොහොමටවත් හරියන වැඩක් නොවෙයි. ඒ වෙන කවුරුවත් නොවෙයි.-මම!''

ඔහු ගේ මනෝභාවය සැණින් බිඳ වැටුණා.

''එතකොට ඔයාටවත් කෙනෙක් සොයා ගන්න බැරි වුණාද?''යි ඔහු චෙබුරාෂ්කා ගෙන් ඇහුවා.

''සොයා ගත්තා.''යි චෙබුරාෂ්කා උත්තර දුන්නා. ''බිංදු අටකුත් එක්ක. ඒත් එයා චුට්ටක් වත් කැමති නෑ, ඔයාට බිංදු හයක් නිසා. එයාව මිතුරු කර ගැනීමට නම් බිංදු දහයක් වත් අරගන්න වෙනවා. ඔන්න බිංදු දහයක් ලබා ගත්තොත් නම් නිසැකව ම එයා යාළුවේවි.''

''අපොයි බැහැ.''යි ළමයා කිව්වා. ''දහයක්? ඒක ඕනෑවටත් වැඩියි.! ඔන්න බිංදු හතරක් නම් ලේසියෙන් ම ගන්න ඇහැකි. ඒත් අටක්?'' යැයි කී ඔහු හීන්සැරේ දොර දිහාට ඇදෙන්නට වුණා.

''බලාපොරොත්තු අත්හරින්න එපා. කවුරු හරි කෙනෙක් සොයා ගන්න බැරි වෙන එකක් නැහැ.''යි පිටුපා යන ඔහුට කිඹුල්හාමි කෑ ගසා කිව්වා.

''හොඳයි!'' කී කොලුවා සැණින් දොරටුවෙන් අතුරුදන් වී ගියා.



පැ යක් ගත වුණා. පසුව තවත් පැය භාගයක්. කිසිම අමුත්තෙක් පැමිණියේ නැහැ. පසුව එක්වර ම කවුළුව විවර වී කෙටි අං යුගලක් සහ බොහොම කඩිසර ප්‍රාණවත් කන් දෙකක් ඇති පුදුමාකාර හිසක් කාමරය තුළට එබිකම් කළා.

''ආයුබෝවන්!''යි එම හිස ආචාර කළා. ''හිතන්නෙ මට වැරදිලා නෑ කියලයි.''

''ආයුබෝවන්!'' අපේ මිතුරන් ආචාර කළා.

ඔවුන් හමුවට පැමිණියේ කවුරුන්ද යි ඔවුන්ට එක්වර ම තේරුම් ගියා. මේ තරම් දිග ගෙලක් ඇත්තේ මේ ලෝකේ එක ම එක සතෙකුට විතරයි. ඒ ජිරාෆ්.

''මගේ නම අන්යුතා''යි අමුත්තිය කිව්වා. ''මට මිතුරන් සමග සබඳකම් පවත්වන්න උවමනායි.''

ඇය කවුළු පඩිය මත තබා තිබු මල් පෝච්චියේ මල්වල සුවඳ ඉව අල්ලා බලා දිගට ම කතා කළා.

''සමහර විට ඔයාලා හැමෝට ම මේ දැන් එක පාරට ම ප්‍රශ්නයක් පැන නගින්න ඇති, මේ තරම් මන බඳින ජිරාෆ් තරුණියකට කොහෙත්ම මිතුරන් නැත්තේ ඇයි කියලා. එහෙම නේද?''

ගියෙනාටත් ගාල්යාටත් චෙබුරාෂ්කාටත් එය සත්‍යයක් බව පිළිගැනීමට සිදු වුණා.

''එහෙම නම් මම ඔයාලට පැහැදිලි කර දෙන්නම්, මේ හැමදේට ම හේතුව මම ඉතා ම උස වීමයි. මා සමග කතා බහ කිරීමට නම් නොවරදවා ම හිස උඩට හරවන්න ඕන.''යි කී ජිරාෆ් තරුණිය ගෙල මඳක් ඇල කොට ඉතා ම ඕනෑකමින් කැඩපතෙන් සිය රූ සපුව දෙස බැලුවා. ''ඔන්න ඉතින් ඔයාලා මා සමග කතා බහ කරමින් උඩ බලාගෙන පාරෙ යන කොට එක පාරට ම ඔයාලා ඇද වැටෙනවා. මොකක්

හරි වළකට. නැතිනම් කාණුවකට! ... ඒ විදියට මගේ සියලු හිතවත්තු විවිධාකාර වීදිවලදී අතුරුදන් වෙලා ගියා. ඉතින් දැන් ඔවුන් කොහෙන් සොයා ගන්නද කියලාවත් මං දන්නේ නැහැ! අනේ, ඇත්තට ම දුක හිතෙන කතාවක් නේද?''

ගියෙනාටත්, ගාල්යාටත්, චෙබුරාෂ්කාටත් යළිත් එකඟවීමට සිදු වුණා, එම කතාව ඉතා ම දුක්බර එකක්ය කියා...

ජිරාෆ් තරුණිය බොහෝ ම දිගු වේලාවක් කතා කළා. තමන් වෙනුවෙනුත් අනිත් හැමෝම වෙනුවෙනුත් එයා තනියම කතා කළා. නමුත් කොතරම් වේලාවක් කතා කළත් එයාට බැරි වුණා, කිසිම දෙයක් තේරුම් යන්න පැහැදිලි ව ප්‍රකාශ කිරීමට.

දීර්ඝ කතා බහෙන් පසුව කෙසේ හෝ අමුත්තිය ආපසු යවන්නට අන්තිමේදී ගියෙනා සමත් වුණා. ඇය පිටත් ව ගිය සැණින් හැමෝම සැහැල්ලු සුසුමක් හෙළුවා.

''දැන් ඉතින් ගෙවල්වලට යන්නත් වෙලාව හරි. ටිකක් විවේක ගත්තොත් හොඳයි වගේ.''යි ගාල්යා කිව්වා.



ඒහෙත් කිඹුල්හාමිට විවේක ගැනීමට ඉඩ ලැබුණේ නැහැ. එයා නිදාගන්න ඇඳට ගියා විතරයි. කවුදෝ හීන් සැරේ දොරට තට්ටු කළා.

ගියෙනා දොර විවර කළ විට ගෙත්තම් කළ තොප්පියක් හිස පැලඳි, ක්‍රීඩා ඇඳුමකින් සැරසී සිටි කුඩා වඳුරු පැංචි එළිපත්ත මත සිටගෙන සිටින සැටි දුටුවා.

''ආයුබෝවන්'' කිඹුල්හාමි ඇයට කිව්වා. ''ඇතුළට එන්න.''

වඳුරු පැංචි නිහඬව ගෙට ඇතුළු වී අමුත්තන් සඳහා වෙන් කර තිබූ පුටුවේ හිඳ ගත්තා.

''මගේ හිතේ ඔබට මිතුරන් අවශ්‍යයි.?'' ඇය වෙතට නැඹුරු වෙමින් ගියෙනා ඇහුවා. ''එහෙම නේද?''

''එහෙම තමයි. එහෙම තමයි.'' අමුත්තිය මුව විවර නොකර හිසින් අනුමත කළා. පෙනෙන හැටියට ඇගේ මුව තුළ කැඳ හෝ පිං පොං බෝල පිරිලා වගේ. ඇය මුවින් එක වචනයක් වත් පිට නොකර වරින් වර හිස වනමින් එකඟතාව පළ කළා.

ගියෙනා තත්පරයක් අවිනිශ්චිත ව බලා සිට එක්වර ම මෙසේ ප්‍රශ්න කළා.

''ඔයාට... සමහර විට කතා කරන්න බැරි ද?''

දැන් වඳුරු පැංචි උත්තර දෙන්නේ කෙසේ ද? ඇය "පුළුවන්" කියන්න හිස වැනුවොත් එහි තේරුම, ''ඔව්. මට කතා කරන්න බැහැ.'' කියලයි. එහෙම නැත්නම් ඇය ''නැහැ''යි අඟවමින් හිස වැනුවොත් එහි තේරුම ''බැහැ, මට කතා කරන්න බැහැ'' කියලයි.

එම නිසා මුව විවර කොට, ඇගේ කතාවට බාධා කරමින් මුව තුළ රුවා ගෙන සිටි ඉස්කුරුප්පු ඇණ, මුරිච්චි, ටොනික් මූඩි, බොත්තම්, යතුරු, මකන කෑලි සහ වෙනත් සිත්ගන්නා සුලු අවශ්‍ය අනවශ්‍ය පොඩි පොඩි බඩුබාහිරාදිය තොගයක් ම එළියට දමන්න ඇයට සිදු වුණා.

''මට කතා කරන්න පුළුවන්.''යි අන්තිමේදී ඇය ප්‍රකාශ කළා. පසුව යළිත් සිය අඩුම කුඩුම ටික කටේ ඔබා ගන්න ලෑස්ති වුණා.




''එක මිනිත්තුවකට පොඩ්ඩක් ඔහොම ඉන්න''යි ඇයව නවත්වමින් කිඹුල්හාමි කිව්වා. ''ඔය ගමන් ම කිව්වා නම් හොඳයි ඔබේ නම සහ වැඩ කරන්නේ කොහේද යි කියලාත්''

''මාරියා ප්‍රාන්සෙව්නා.'' වඳුරු පැංචි තමන්ව හඳුන්වා දුන්නා. ''මම පුහුණුකරු සමගින් සර්කස් හලේ සර්කස් පෙන්වනවා.''

එසේ කී ඇය ඉක්මනින් සිය සියලු වස්තුව එකතු කොට කිටි කිටියේ මුව තුළ ඔබා ගත්තා. නාඳුනන පිට කෙනෙකු ගේ මේසය මත සිය වස්තුව තැබීමට සිදුවීම ගැන ඇය බොහොම කලබලයෙන් සිටි බව පෙනෙන්නට තිබුණා.

''ඉතින් මොන වගේ මිතුරෙක් ද ඔබට උවමනා.''යි ගියෙනා ප්‍රශ්න කිරීම දිගට ම කර ගෙන ගියා.

වඳුරු පැංචි මොහොතක් කල්පනා කරමින් සිට, තමාට කතා කිරීමට බාධා කළ වස්තුව යළිත් එළියට දමන්න ලෑස්ති වුණා.



''පොඩ්ඩක් ඔහොම ඉන්න''යි ඇයව නවත්වමින් ගියෙනා කිව්වා. ''ඔබට අවශ්‍ය පොඩ්ඩක් වත් කතා කිරීමට උවමනා නොවන විදියේ යාළුවෙක් නේද? මං හරි නේද?''

''හරියට ම හරි''යි මාරියා ප්‍රාන්සෙව්නා නම් අමුතු නමක් ඇති අමුත්තිය හිස වනා අනුමත කළා. ''හරියට ම හරි. හරියට ම හරි.''

''එහෙම නම් සතියකින් අප වෙත පැමිණෙන්න.''යි කතා බහ හමාර කරමින් කිඹුල්හාමි පැවසුවා.

පසුව වඳුරු පැංචි පිටවී ගියා. ඇය පසු පසින් දොරටුව වෙත ඇවිද ගිය කිඹුල්හාමි කඩදාසියක දැන්වීමක් ලියා දොරේ ඇලෙව්වා.

මිතුරු නිවස රාත්‍රී ආහාරය සඳහා වසා ඇත.

පසුව ඔහු මඳක් කල්පනා කොට එයට මෙසේද එකතු කළා.

හෙට උදෑසන තෙක්

එහෙත් තවත් අනපේක්ෂිත ප්‍රශ්නයක් ගියෙනාට පැන නැංගා. වඳුරු පැංචි තමන් ගේ සියලු අනගි වස්තුව සමගින් අහම්බෙන් මේසය මත තිබූ කිඹුල්හාමි ගේ එලාම් ඔරලෝසුවත් මුව තුළ ඔබා ගෙන තිබුණා. එම නිසා කිඹුල්හාමි පසුදා උදෑසන වැඩට නොගොසින් සැප සේ නිදා ගත්තා. එබැවින් ඔහුට සතුන් වත්තේ කළමනාකරු ගෙන් දොස් අහන්නත් සිදු වුණා.

ඒ අතර වඳුරු පැංචිට කුමක් සිදුවීද? කිඹුල්හාමි ගේ නිවසේ සිට පෙරළා පැමිණි මොහොතේ  සිට ඇගේ සවන් තුළ 'ටික්-ටික්' හඬක් නිරන්තරයෙන් නද දුන්නා. ඒ ගැන ඇය බොහෝ ම නොසන්සුන් වුණා. හිමිදිරි පාන්දර හරියට ම උදේ හයට-ඇගේ හිස තුළ මහ හඬින් සීනුවක් වදින්න පටන් ගත්තා. අසරණ වඳුරු පැංචි මොන තරම් බය වුණාද යි කිව්වොත් එයා කෙළින් ම ඇඳෙන් පැනලා දොස්තර ඉවානොවි ගේ ඩිස්පැන්සරියට පණ කඩාගෙන දිව්වා.

දොස්තර ඉවානොවි වෙද නළාව තියලා ඉතා ම සාවධානව ඒ හඬට කන් දුන්නා. පසුව මෙසේ ප්‍රකාශ කළා.

''එක්කෝ මෙය නාඩිවල ප්‍රශ්නයක්. නැත්නම් මෙතෙක් විද්‍යාවට හසු නොවූ අබිරහස් රෝගයක්. මේ කාරණා දෙකට ම එඬරු තෙල් බොහෝ ම පංකාදුයි. (එම දොස්තර බොහොම පරණ තාලේ කෙනෙක් වූවා පමණක් නොව, කිසිම ආකාරයක අලුත් බෙහෙතක් භාවිත නොකළ කෙනෙක්ද වුණා.) හොඳයි කියමු බලන්න, මගේ හිතේ මේ පළමු වතාවට නොවෙයි වෙන්න ඇති නේද?''

දූත් ඉතින් වඳුරු පැංචි මොන ආකාරයෙන් හිස වැනුවත් එහි තේරුම වෙන්නේ එය පළමු වතාව නොවෙයි කියලයි. ඒ නිසා ඇයට හක්ක දෙපැත්තේ හංගාගෙන සිටි වස්තුව එළියට දමනවා හැරෙන්න වෙන කරන්න දෙයක් තිබුණේ නැහැ. අන්න එවිට දොස්තරට සියල්ල පැහැදිලි වුණා.

''මීට පස්සේ ඔබේ හිස තුළ සංගීත නාදයක් එහෙම ඇහුනොත් මං ගාවට එන්න ඉස්සෙල්ලා රේඩියෝව හරි නගරයේ ප්‍රධාන හෝරා කුළුනේ ඔරලෝසුව හරි බැරිවීමකින් කටේ ඔබා ගත්තාද යි කියලා බැලුවා නම් හොඳයි.'' දොස්තර කිව්වා.

ඒ අවවාදයත් සමගින් ඇය දොස්තර ඉවානොවි ගෙන් සමුගෙන පිට වී ගියා.

දින කිහිපයකට පසු සැඳෑවක ගියෙනා පුංචි සාකච්ඡාවක් පටන් ගත්තා.

''මේක මුළුමනින් ම නුවණක්කාර දෙයක් නොවෙන්න පුළුවනි. ඒත් මං ඒ ගැන යමක් කිව යුතුයි.'' ඔහු කතාව ආරම්භ කරමින් කිව්වා. ''ඔයාලා සමගින් මේ කරන කටයුත්තට මම බොහොම කැමතියි. කෙසේ වෙතත් මම කියන්න කැමතියි, එය අපට ආපු විශිෂ්ට ම අදහසක්! ඒත් අපි ඒ ගැන හිතන්න පටන් ගත් දිනයේ සිට හැම ආකාරයකින් ම මගේ නිවී සැනසිල්ල නැති වී ගියා. කොටින්ම රාත්‍රියේදී පවා. අනෙක් සාමාන්‍ය කිඹුල්ලු සනීපෙට නිදන විට මම නිදි වරාගෙන අමුත්තන් පිළිගත යුතු වුණා. ඒ විදියට තවත් දුර යන්න අමාරුයි! නොපමාව මෙයට විසඳුමක් සෙවිය යුතුම යි.''

''මං හිතන්නේ දැනටමත් මම විසඳුමක් සොයාගෙන ඉවරයි.'' චෙබුරාෂ්කා කිව්වා. ''ඒත් මට බයයි, ඒ අදහසට ඔයාලා අකමැති වෙයි කියලා.''

''හැබැට? ඒ මොකක්ද?''

''අපට අවශ්‍යයි අලුත් නිවසක් තැනීමට. එච්චරයි.''

''කදිමයි.'' ගියෙනා සතුටින් ඉපිලී ගියා. ''එහෙනම් පැරණි නිවස අපි වසා දමමු.''

''දැනට වසා දමමු.''යි නිවැරදි කරමින් ගාල්යා කිව්වා. ''පසුව අලුත් නිවසේ නැවතත් විවෘත කරමු.''

''අන්න හරි. දැන් අපි කොතැනින්ද පටන් ගන්නේ?''යි ගියෙනා ඇහුවා.

''හැමදේට ම කලින් ඉඩමක් සොයා ගන්න ඕනෑ.''යි ගාල්යා පිළිතුරු දෙමින් කිව්වා. ''ඉන් පසුව අපි තීරණය කළ යුතුයි, මොනවායින් ද අපි නිවස ඉදි කරන්නේ කියලා.''

''ඉඩම නම් අමාරු වැඩක් නෙවෙයි.'' කිඹුල්හාමි කිව්වා. ''මගේ නිවස පිටුපස ළමා පෙර පාසලක් තිබෙනවා. ඒ අසල ම නොවිසල් චතුරශ්‍රයක් තිබෙනවා. අන්න එතන අපි නිවස ඉදි කරමු.''

''ඒ මොනවායින් ද?''

''ඇත්තෙන් ම ගඩොලින්.''

''එතකොට ගඩොල් කොහෙන්ද ලබා ගන්න පුළුවන්.''

''දන්නෙ නෑ.''

''මම දන්නෙත් නෑ.''යි ගාල්යා කිව්වා.

''ඉතින් මම දන්නෙත් නෑ.''යි චෙබුරාෂ්කා කිව්වා.

''මේ අහන්න.''යි ගාල්යා යෝජනා කළා. ''එන්න අපි කතා කරමු විමසීම් කාර්යාලයට.''

''අන්න වැඩේ''යි ඒ යෝජනාවට කැමැත්ත පළ කරමින් කිඹුල්හාමි දුරකථන රිසීවරය අතට ගත්තා. ''හලෝ... විමසීම් කාර්යාලය ද?'' එයා කතා කළා. ''ඔබට කියන්න පුළුවන්ද, ගඩොල් ලබා ගත හැක්කේ කොහෙන්ද කියලා. අපට අවශ්‍යයි පොඩි ගෙයක් තැනීමට.''

''මොහොතක් රැඳී සිටින්න.''යි විමසීම් කාර්යාලය කිව්වා. ''ටිකක් කල්පනා කිරීමට කාලය අවශ්‍යයි.'' මොහොතකට පසු විමසීම් කාර්යාලය මෙසේ කිව්වා. ''ගඩොල් සම්බන්ධ කටයුතුවල නිරත වී සිටින්නේ ඉවාන් ඉවානවිච්. එම නිසා ඔහු වෙත යන්න.''

''ඔහු කොහේද වාසය කරන්නේ?''යි ගියෙනා විමසුවා.

''එයා වාසය කරන්නේ නැහැ.''යි විමසීම් කාර්යාලය පිළිතුරු දුන්නා. ''එයා වැඩ කරනවා. එයා ඉන්නේ චතුරශ්‍රයේ තිබෙන ලොකු ගොඩනැගිල්ලේ. ආයුබෝවන්! නැවත හමු වෙමු.''

''නියමයි! යමු ඉවාන් ඉවානවිච් වෙතට''යි ගියෙනා කිව්වා. පසුව ඔහු ඇඳුම් අල්මාරිය තුළින් ඔහු ගේ වඩාත් ම පියකරු ඇඳුම් කට්ටලය එළියට ගත්තා.

ලොකු ආලෝකවත් කන්තෝරු කාමරයේ ලියන මේසයේ වැඩ කටයුතු කරමින් ඉවාන් ඉවානවිච් හිඳ සිටියා.

ඔහු ගේ මේසය මත තිබූ ලොකු කඩදාසි ගොන්නෙන් එක් කඩදාසියක් අතට ගෙන ඔහු එහි මෙසේ ලිව්වා. ''අවසර ලැබේ. ඉවාන් ඉවානවිච්.'' පසුව ඔහු එම කඩදාසිය මෙසයේ වම් පසින් තැබුවා.

ඔහු ඊළඟ කඩදාසිය අතට ගෙන එහි ''අවසර නොලැබේ. ඉවාන් ඉවානවිච්'' යැයි ලියා මේසයේ දකුණු පසින් තැබුවා.

ඒ ආකාරයට වැඩ දිගට ම කෙරී ගෙන ගියා.

''අවසර ලැබේ. ඉවාන් ඉවානවිච්.''

''අවසර නොලැබේ. ඉවාන් ඉවානවිච්.''

''ආයුබෝවන්!'' යැයි විනීත ලෙසින් කන්තෝරු කාමරයට ඇතුළු වෙමින් අපේ මිතුරන් ඔහුට ආචාර කළා.

''ආයුබෝවන්.'' ඉවාන් ඉවානවිච් වැඩ නතර නොකර ම පිළිතුරු දුන්නා.

ගියෙනා සිය අලුත් ම තොප්පිය ගලවා මේසයේ කොනකින් තැබුවා. එවිට ඉවාන් ඉවානවිච් එය මත ''අවසර ලැබේ. ඉවාන් ඉවානවිච්'' යැයි ලිව්වා. මන්ද යත්, ඔහු ඊට පෙර කඩදාසියේ ලිව්වේ 'අවසර නොලැබේ. ඉවාන් ඉවානවිච්' කියලයි.



''ඔබ දන්නවද, අපට ගඩොල් අවශ්‍යයි.'' කතාව අරඹමින් ගාල්යා කිව්වා.

''කොපමණ ප්‍රමාණයක් ද?''යි ලියන අතරේ ම ඉවාන් ඉවානවිච් උනන්දු වුණා.

''ගොඩාක්'' චෙබුරාෂ්කා හනික උත්තර දුන්නා. ''මහා ගොඩක්''

''බැහැ''යි ඉවාන් ඉවානවිච් කිව්වා. ''ගොඩාක් දෙන්න මට බැහැ. පුළුවන් භාගයක් දෙන්න විතරයි.''

''ඒ මොකද?''

''මගේ ප්‍රතිපත්තිය ඒකයි.'' ප්‍රධානියා පැහැදිලි කළා. ''හැමදේම කරන්නේ භාගයයි.''

''ඒ මොකද එවැනි ප්‍රතිපත්තියක්?'' චෙබුරාෂ්කා ඇහුවා.

''ඒ විදිය පහසුයි.'' ඉවාන් ඉවානවිච් කිව්වා. ''මම හැමදේම ඉවරයක් වෙන්න ම කළොත්, හැමෝට ම හැමදේට ම කිසි ප්‍රශ්නයක් නැතිව අවසර දුන්නොත්, හැමෝම කියාවි මම ඉතාම කරුණාවන්ත කෙනෙක්ය, ඕනම කෙනෙකුට ඕනම වැඩක් මට කියලා කර ගන්න පුළුවන් ය කියලා. ඒ වගේ ම මම කාටවත් කිසි දෙයකට අවසර නොදී කිසිවක් නොකරම සිටියොත් මට කියාවි හැමෝට ම බාධා කරන කිසි කමකට නැති නිකමෙක් ය කියලා. ඉතින් මේ විදියට කිසිම කෙනෙක් කිසි අහිතක් මං ගැන හිතන්නේ නැහැ. මැද පිළිවෙත. තේරුණාද?''

''තේරුණා''යි අමුත්තන් පැවසුවා.

''හොඳයි, එහෙමනම් කොපමණ ගඩොල් ප්‍රමාණයක් උවමනාදැයි කියමු බලන්න.''

''අපට අවශ්‍යයි කුඩා නිවාස දෙකක් තැනීමට''යි කිඹුල්හාමි කපටි ලෙස පිළිතුරු දුන්නා.

''අන්න හොඳයි.'' ඉවාන් ඉවානවිච් කිව්වා. ''මම ඔබලාට ගඩොල් දෙන්නම් එක කුඩා නිවසක් සඳහා පමණක්. ඒ කියන්නේ ගඩොල් දහසක්. ඇති වෙයිද?''

''ඇති වෙයි.'' ගාල්යා හිස වැනුවා. ''ඒ වගේ ම අපට ගඩොල් ප්‍රවාහනයට ලොරියකුත් උවමනායි.''

''අපෝ බැහැ.'' ඉවාන් ඉවානවිච් එය ප්‍රතික්ෂේප කරමින් කිව්වා. ''මට බැහැ ලොරියක් දෙන්න. බාගයක් නම් ඔයාලට දෙන්න ඇහැකි.''

''ඒත් ලොරි බාගයක් ගමන් කරන්නේ කොහොමද?''යි චෙබුරාෂ්කා ඒ යෝජනාවට විරුද්ධව කතා කළා.

''සත්තකින්ම'' ප්‍රධානියා එකඟතාව පළ කරමින් කිව්වා. ''බැහැ තමයි. ඉතින් එහෙමනම් අපි මේ විදියට වැඩේ කරමු. මම ඔබලාට සම්පූර්ණ ලොරි රථයක් ලබා දෙන්නම්. නමුත් ලොරියෙන් ගඩොල් ප්‍රවාහනය කරන්න පුළුවන් ගමනෙන් භාගයක් විතරයි.''

''ඒ කියන්නේ ගමනේ භාගය ළමා පෙර පාසල අසලින් හමාරයි.'' යළිත් කිඹුල්හාමි උපායක් යෙදුවා.

''එහෙම නම් එකඟයි.'' ඉවාන් ඉවානවිච් ප්‍රකාශ කළා.

අනතුරුව ඔහු සිය වැදගත් රාජකාරියේ දිගට ම නිරත වුණා. කඩදාසි ගොන්නෙන් කඩදාසියක් ගෙන 'අවසර ලැබේ. ඉවාන් ඉවානවිච්.' පසුව ඊළඟ කඩදාසියේ....

පසු දින ළමා පෙර පාසල අසලට ලොකු ලොරි රථයක් පැමිණියා. එය සමග ආ කම්කරුවන් දෙදෙනෙක් ගඩොල් දහසක් බිමට බෑවා.

''අපේ ඉඩම වට කොට අනිවාර්යයෙන් ම තාප්පයක් ඉදි කරන්න අවශ්‍යයි.'' ගාල්යා කිව්වා. ''එතකොට අපට කාගෙන් වත් බාධාවක් නැහැ.''

''නිවැරදියි.'' ගියෙනා එකඟතාව පළ කළා. ''එතැනින් වැඩේ පටන් ගනිමු.''

ඔවුන් ලෑලි තොගයක් සොයා ගත්තා. ඉඩමේ සතර කොනේ කණු සිටුවා, පසුව ලෑලි යොදා ගනිමින් ලී තාප්පයක් සැකසුවා. ඉන් පසුව නිවසේ වැඩ ඇරඹුවා.

චෙබුරාෂ්කා සහ ගාල්යා මැටි රැගෙන ආවා. කිඹුල්හාමි වැඩට අඳින උඩ වැස්මකින් සැරසී පෙදරේරුවෙක් බවට පත් වුණා.

එහෙත් එක දෙයක් ගැන ගියෙනා බොහොම කරදර වුණා.

''තේරුම් ගනින්.'' යැයි ඔහු චෙබුරාෂ්කාට පැවසුවා. ''මං මෙහෙම ඉන්නවා මගේ දන්න හඳුනන අය දුටුවොත් මොනවා හිතාවිද? එයාලා කියාවි 'බලාපල්ලකො ගියෙනා කිඹුල්හාමි මෙවැනි සුළු රැකියාවකුත් කරනවා නොවැ' කියලා. ඒ වගේ කතා අහන එක එච්චර හොඳ මදි නේද?''

''ඉතින් ඔයා වෙස් මූණක් පලඳින්න.''යි චෙබුරාෂ්කා යෝජනා කළා. එතකොට ඔයාව කාටවත් අඳුනා ගන්න බැරි වේවි!''

''අන්න වැඩේ...'' නළලට තට්ටුවක් දමූ කිඹුල්හාමි කිව්වා. ''මට ඒ ගැන කල්පනා වුණේ නැහැ නොවැ!''

එතැන් සිට ඔහු නව නිවසේ ඉදි කිරීම් වැඩපළට පැමිණියේ වෙස් මූණක් පැලඳගෙනයි. එලෙස ඔහු හඳුනාගැනීමට කාටවත් නොහැකි වුණා. එහෙත් එක් දිනක් කිඹුල්හාමි සමග මාරුවට සතුන් වත්තේ වැඩ කරන වලේරා කිඹුල්හාමි ඒ අසලින් යන අතර මෙසේ කෑ ගැහුවා.

''ඔහෝ... හෝ... මොනවද මං මේ දකින්නේ? ගියෙනා කිඹුල්හාමි සිමෙන්ති පෙරාගෙන ගෙවල් හදනවා නොවැ! කාරි නෑ... කොහොමද සැප දුක්?''

''සැප දුක් හොඳයි.'' ගියෙනා කට හඬ වෙනස් කර උත්තර දුන්නා. ''හැබැයි මම ගියෙනා නම් නොවෙයි. අනෙක මම කොටින්ම කිඹුලෙකුත් නොවෙයි.''

එලෙස ඔහු වලේරා ඉදිරියේ සිය තත්ත්වය රැක ගත්තා.



දිනක් සවස් වරුවේ ගියෙනා කිඹුල්හාමි මුලින් ම ඉදි කිරීම් වැඩපළට පැමිණියා. ඔහු එකවර ම ලී තාප්පය මත ලියා ඇති දැන්වීමක් දුටුවා.

**නපුරු බල්ලා ගෙන් ප්‍රවේශම් වනු!**

''මදෑ වැඩක හැටි!''යි ගියෙනා කල්පනා කළා. ''කවුද හැබෑට ම බලු තඩියෙක් මෙහේ උස්සගෙන ආවෙ? බාගදා චෙබුරාෂ්කාවත් ද? උන්දැට නා නා ප්‍රකාර අරුම පුදුම යාළුවො මහ ගොඩක් නොවැ!''

කිඹුල්හාමි බිම ඇණ තියාගෙන චෙබුරාෂ්කා එන තෙක් මග බලා ගෙන සිටියා.

අඩ පැයකට පසු ගීයක් මුමුණමින් චෙබුරාෂ්කා එතැනට පැමිණියා.

''නුඹ දන්නවද කවුද මෙහාට බල්ලෙක් රැගෙන ආවේ කියලා?''යි චෙබුරාෂ්කා වෙත නැඹුරු වෙමින් කිඹුල්හාමි ප්‍රශ්න කළා.

චෙබුරාෂ්කා මවිතයෙන් ඇස් මහත් කොට බැලුවා.

''දන්නේ නැහැ.''යි ඔහු උත්තර දුන්නා. ''ඊයේ නම් මෙතැන බල්ලෙක් හිටියේ නැහැ. බාග දා ගාල්යාවත් අරන් ආවද?''

එහෙත් ගාල්යා පැමිණි විට හෙළිදරව් වූයේ, මොනම ආකාරයේවත් නපුරු බල්ලෙක් මෙහි රැගෙන නො ආ බවයි.

''ඒ කියන්නේ බල්ලා තනියමයි ඇවිත් තියෙන්නේ?''යි චෙබුරාෂ්කා අනුමාන කළා.

''තනියම?''යි කිඹුල්හාමි මවිතයෙන් ඇසුවා. ''එතකොට කවුද මේ දැන්වීම ලිව්වේ?''

''එයා ම ලියා ගන්න ඇති. එතකොට අහක යන කරදර ගැන වද නොවී එයාට පාඩුවේ ඉන්න ඇහැකි නේ.''

''එහෙම වෙන්නත් බැරිකමක් නැහැ.''යි ගාල්යා තීරණය කළා. ''කොහොම හරි උපායක් යොදා උන්දෑව මෙතැනින් එළවා දමන්න ඕනෑ! අන්න වැඩේ... අපි නූලක ලිංගුස් කැබැල්ලක් ගැට ගහලා තාප්පෙට උඩින් ඉඩමට විසි කරමු. බලුහාමි පැනලා ඒක කටින් ඩැහැ ගත්ත ගමන් අපි නූලෙන් ඇදලා උන්දෑව ඇද ගෙන ගිහින් කඩුල්ලෙන් එළියට දමමු.''

පසුව ඔවුන් එලෙස සිදු කළා. චෙබුරාෂ්කා ගේ රාත්‍රී කෑම පංගුවෙන් ලිංගුස් කැබැල්ලක් ගෙන නූලක ගැට ගසා තාප්පෙට උඩින් ගෙවත්තට විසි කළා.

නමුත් කිසිම කෙනෙක් ඒ ලිංගුස් කැබැල්ල ඩැහැ ගත් බවක් පෙනෙන්නට තිබුණේ නැහැ.

''බාගදා උන්දෑ ලිංගුස්වලට අකමැති වත් ද?''යි චෙබුරාෂ්කා ඇසුවා. ''එයා කැමති ටිං මාලුවලට ද දන්නෙ නෑ? නැතිනම් කේජු දාපු සැන්ඩ්විච්වලට?''

''මගේ මේ අලුත් කලිසම නොතිබුණා නම් මං ඔය බලු තඩියට හොඳ පාඩමක් උගන්වනවා.''යි ගියෙනා කෝප වුණා.

එවිට එක්වර ම තාප්පයට උඩින් හොර බළල් තඩියෙක් නොපනින්නට මේ කලබැගෑනිය කෙසේ අවසන් වේදෑ යි කිව නොහැකි යි. නූලට ගැට ගැසූ ලිංගුස් කැබැල්ල ඌ කටින් ඩැහැ ගෙන සිටියා.



අප මිතුරන් දෙස හොර බැල්මක් හෙලූ බළල් තඩියා හනික එතැනින් පැන දිව්වා. ඌ කොතරම් වේගයෙන් පැන දිව්වාද යි කිවහොත් චෙබුරාෂ්කාට නූලෙන් ඇද තමන් ගේ රෑ කෑම ටිකවත් බේරා ගැනීමට අවස්ථාවක් ලැබුණේ නෑ.

''අනේ මෙහෙමත් වැඩක හැටි.'' ඔහු කලකිරීමෙන් පැවසුවා. ''ලියා තිබෙන්නේ එක දෙයක්. හැබෑව තව දෙයක්!''

එසේ කී චෙබුරාෂ්කා කඩුල්ල අසලට ගොස් ඉඩම තුළට එබිකම් කර බැලුවා. ''මොන බල්ලෙක්වත් ඇත්තේ නැහැ!''

''ඇත්තෙ නැහැ? ඒ කියන්නේ කාට හරි අපව රවටලා අපේ වැඩේට බාධා කරන්න උවමනා කරලා තියෙනවා. එච්චරයි''

''මම දන්නවා ඒ කවුද කියලා!' ගියෙනා කෑ ගැහුවා. ''ඒ කුණකටු ආච්චි! වෙන කවුරුවත් නෙවෙයි. ඇය නිසා මුළු හවස් වරුව ම අපතේ ගියා. හෙට ඇය තවත් මොනවා හරි ගිනි ගෙඩියක් සැලසුම් කරාවි. ඔන්න බලන්නකෝ.''

''හෙට ඇය කිසිම ගිනි ගෙඩියක් සැලසුම් නොකරාවි.''යි චෙබුරාෂ්කා දැඩිව ප්‍රකාශ කළා. තාප්පයේ කලින් ලියා තිබූ දැන්වීම මකා දැමූ ඔහු අලුතින් මෙසේ ලිව්වා.

## නපුරු චෙබුරාෂ්කා ගෙන් ප්‍රවේශම් වනු!

පසුව ඔහු මහත දිග පොල්ලක් තෝරා ගෙන, එය කඩුල්ලට ඉහළින් ඇතුළු පැත්තේ රැඳෙව්වා. හරියට උගුලක් වගේ. දැන් කවුරු හරි කඩුල්ල විවර කර සිය කුතුහලකාර හොම්බ ඇතුළට පෙව්වොත්, නොවරදවා ම ඔහු ගේ හිසට පොලු පාර වදිනවා.

ඉන් අනතුරුව ගාල්යා, ගියෙනා සහ චෙබුරාෂ්කා තම තමන් ගේ වැඩ කටයුතුවලට නිවීසැනසිල්ලේ පිටත් වී ගියා.

සෑම දිනක ම රෑ බෝවත් ම කුණකටු ආච්චි රාත්‍රී කොල්ලකෑම් සඳහා පිටත් වී යනවා. ඇය දැන්වීම්වල ඇති රූපවල රැවුළු ඇන්දා. කුණු බක්කි පෙරළුවා. රාත්‍රියේ වීදිවල ගමන් කළ මගීන් බීරංග ගසා බිය ගැන්වූවා.

එලෙස මෙදින රාත්‍රියේ ද ඇය සිය හීලෑ මී හාමිනේ ලරිස්කා ද කැටුව නගර සංචාරයේ නිරත වූවා.

අලුත් නිවසේ වැඩ කටයුතු සිදු කෙරෙන අන්දම බලන්නට යාමට ඇය මුලින් ම අදහස් කළා. ඒ ඊළඟ කඩාකප්පල්කාරී ක්‍රියාවේ නිරත වීමේ අරමුණ ඇතිව යි.

ඉදි කිරීම් වැඩපළේ තාප්පය අසලට සේන්දුවත් ම තාප්පය මත ලියා ඇති දැන්වීම ඇය දුටුවා.

''මාරයි'' ඇය කල්පනා කළා. ''මොකාද බොලේ මේ නපුරු චෙබුරාෂ්කා? හොට දාලා බලන්ට ඕනෑ.''

කඩුල්ල විවර කර ගෙවත්තට හිස පොවා බලන්නට ඇයට උවමනා වුණා. ඇය කඩුල්ල විවර කර හිස පොවනවාත් සමග ම එහි ඇතුළු පැත්තේ රඳවා තිබූ තඩි පොල්ලෙන් 'දඩාස්' ගා ඇගේ නහයට රිදෙන්න සැර පහරක් එල්ල වුණා.

''මිනී මරුවෝ''යි මැහැල්ල නහය අල්ලාගෙන උඩ පනිමින් මොර දුන්නා. ''අපරාධකාරයෝ! දාමරිකයෝ! මම තොපිට යස පාඩමක් උගන්වන්නම්! ඔන්න බලාගනියව්!'' ඇය වේදනාවෙන් උඩ පනිමින් සිය හීලෑ මී හාමිනේ ද කිහිලි ගන්නාගෙන සතුන් වත්ත දෙසට දිව ගියා.

දැනටමත් කුණකටු ආච්චි ගේ හිස තුළ පළිගැනීමේ බිහිසුණු සැලැස්මක් කැකෑරෙමින් තිබුණා. සතුන් වත්තේ පිතෙන්චික් නම් ඉතා ම නපුරු මෝඩ ම මෝඩ කඟවේනෙක් සිටින බව ඇය දැන සිටියා. පසුගිය ඉරිදා ඇය ඌට බනිස්වලින් සංග්‍රහ කළා. ඒ කඟවේනා හීලෑ කර ගැනීමට

සිතාගෙනයි. කඟවේනා බනිස් ගෙඩි පහක් ම ගිල දැම්මා. ඒ නිසා දැන් ඒ සතා මුළුමනින් ම තමන්හට හීලෑ වී ඇතැයි ඇය කල්පනා කළා. එම නපුරු සතා වෙත දිව ගොස් වහාම ඉදි කිරීම් වැඩපළේ සිටිනා නපුරු චෙබුරාෂ්කාට යස පාඩමක් උගන්වන ලෙසටත්, එහි සියලු දේ සුණුවිසුණු කර දමන ලෙසටත්, අණ කරන්නට මැහැල්ලට උවමනා වුණා.

සතුන් වත්තේ ගේට්ටුව වසා තිබුණා. දෙවරක් නොසිතා ම මැහැල්ල ගේට්ටුව යටින් රිංගා කඟවේනා සිටි කූඩුව දෙසට දිව ගියා.

කඟවේනා අත්තෙන් ම එවිට නිදාගෙනයි සිටියේ. ඌ නින්දෙන් බොහොම සද්දෙට ගොරවමින් සිටියා. කොතරම් තදින් ගෙරෙව්වාද යි කිව හොත් ඒ තරම් සද්දයක් මැද්දෙ කොහොමද ඌ නිදා ගන්නේ කියලා හිතාගන්න වත් බැරි තරම්.

''ඒයි නුඹ නැගිටපන්!'' යැයි මැහැල්ල ඌට කෑ ගැහුවා. ''රාජකාරියක් තියෙනවා කොරන්ට!''

එහෙත් පිතෙන්චික් කඟවේනාට ඇය කී කිසි දෙයක් ඇහුනේ නැහැ.

එවිට ඇය අත මිට මොලවා කූඩුවේ යකඩ පොලු අතරින් කඟවේනාට



අනින්න පටන් ගත්තා. ඉන්පවා ප්‍රතිඵලයක් ලබා ගත නොහැකි වුණා.

අනතුරුව මැහැල්ල දිග පොල්ලක් අතට ගෙන ඉන් කඟවේනා ගේ පිටට තඩි බාන්නට වුණා.

අන්තිමේදී පිතෙන්චික් කඟවේනා අවදි වුණා. අවේලාවේ තමන්ව අවදි කරවීම ගැන ඌ බොහොම භයානක විදියට කිපුණා. කොටින්ම දන් ඌට පොඩ්ඩක් වත් මතක නැහැ මොන ජාතියේ බනිස් කීයක් කැවද කියලාවත්.

කුණකටු ආච්චි කුඩුවේ දොර විවර කර මෙසේ කෑ ගැහුවා. ''ඉදිරියට යනු! වහාම!''

පසුව ඇය සතුන් වත්තේ දොරටුව දෙසට දුවන්නට වුණා.

කඟවේනා ඇය පසුපස කඩා පැන්නා. ඒ ඇය ගේ ''ඉදිරියට යනු!'' හෝ ''වහාම!'' විධානය නිසා නම් නො වේ. ඌට ලොකු උවමනාවක් තිබුණා තමා ගේ නින්දට බාධා කළ ඒ වරදකාරී මැහැල්ලට රත් වෙන්න අනින්න.

ගේට්ටුව අසලට දිව ආ කුණකටු ආච්චි නැවතුණා.



''නවතිනු!''යි ඇය කඟවේනාට නියෝග කළා. ''ගේට්ටුව අරින්න ඕනෑ''

එහෙත් කඟවේනා නො වේ, නැවතුනේ. ඌ පිම්මේ දිව ආ වේගයෙන් ම කුණකටු ආච්චිට කොතරම් වේගයෙන් ඇන්නාද යි කිව හොත් මැහැල්ල ඇසිල්ලකින් ගේට්ටුව උඩින් විසි වී ගොසින් පාරට වැටුණා.

''පල් හොරා! නොසන්ඩාලයා!''යි තුවාල වූ තැන් අතගාමින් මැහැල්ල කෝපයෙන් බෙරිහන් දුන්නා. ''මං උඹට යස පාඩමක් උගන්වන්නම්!''

එහෙත් ඇයට කිසිම පාඩමක් උගන්වන්න ඉඩ ලැබුණේ නැහැ. කඟවේනා ගේට්ටුව කඩාගෙන ඇය පසුපස එලවන්නට වුණා.

''කාලකණ්ණි මෝඩයා''යි පණ එපා කියා දුවන්නට වූ මැහැල්ල බෙරිහන් දුන්නා. ''මං දැන් කෙළින් ම පොලිසියට දුවනවා. එහිදී උඹව මකලා හදාවි!''

එහෙත් ඇයට පොලිසියට දිව යාමට හැටියක් තිබුණේ නැහැ. මන්දයත් එහිදී පොලිසිය මකලා හදන්නේ කඟවේනා නොව, තමා ම බව ඇයට සිහිපත් වූ බැවින්.

ඇය දිව යන මාවතේ උස ම උස ගහක් පෙනී නොසිටින්නට කුමකින් කුමක් සිදුවීමට ඉඩ තිබුණේද යි සිතා ගැනීමට වත් නොහැකි වුණා. එක තත්පරයකින් මැහැල්ල ගහේ දල්ලට ම බඩ ගෑවා.

''යාන්තං ඇති.''යි ගහේ අත්තක එල්ලීගෙන කුණකටු ආච්චි කිව්වා. ''ඌට මෙතැනට බඩ ගාන්න බැහැ නොවැ! හූ... හූ...!''

කඟවේනා නහයෙන් පිඹිමින් ගස මුල බොහෝ වේලාවක් ඒ මේ අත දැගලුවා. පසුව පසෙකින් වූ අගලකට බැස නිදන්නට පටන් ගත්තා.



මේ අතර බොහෝ රෑ බෝ වන තෙක් කිඹුල් හාමි ගේ නිවසේ ගත කළ චෙබුරාෂ්කා සිය නිවස බලා යාමට පිටත් වුණා. අලුත් නිවස ඉදි වන තැනට ගොස් එහි තත්ත්වය කෙසේද යි සොයා බැලීමට අතරමග දී ඔහු තීරණය කළා. ඇත්තෙන් ම ඒ අවස්ථාවේ එය කොහෙත්ම අනවශ්‍ය වැඩක් වුණේ නැහැ.

අඳුරු වීදියේ චෙබුරාෂ්කා සෙමෙන් පිය නැගුවා. නගරයේ සියලු දෙනා දැනටමත් සැප නින්දේ පසු වූ බැවින් අවට මිනිස් පුළුටක් වත් දක්නට ලැබුණේ නැහැ. එහෙත් එක්වර ම චෙබුරාෂ්කාට ඉහළින් උස ගසක් මුදුනේ සර සර හඬක් ඇසෙන්නට වුණා.

''ඔතන කවුද?''යි ඔහු ප්‍රශ්න කළා.

''මේ මම''යි සිහින් හඬක් පිළිතුරු දුන්නා.

අන්න එවිටයි චෙබුරාෂ්කා දුටුවේ ඔවුන් ගේ පැරණි හිතවතිය වූ කුණකටු ආච්චි ගහේ අත්තක එල්ලී සිටින බව.

''ඔබ ඔතන මොනවද කරන්නේ?''

''එල්ලී සිටිනවා.''යි මැහැල්ල උත්තර දුන්නා. ''දැනටමත් පැය දෙකක්.''

''ආ... හැබෑද?''යි කී චෙබුරාෂ්කා යළිත් ගමන ආරම්භ කළා.

මැහැල්ල ගේ පිළිතුර ගැන ඔහුට මඳක්වත් මවිතයක් ඇති වුණේ නැහැ. ඇය ගෙන් ඕනෑ ම දෙයක් බලාපොරොත්තු විය හැකියි.

එමෙන්ම දෙපැයක් පුරා ඇය එහි එල්ලී සිටිනවා නම් කළ යුතු දේ ඇය ම දන්නවා ඇති. එහෙත් අන්තිම මිනිත්තුවේදී චෙබුරාෂ්කා ආපසු හැරුණා.

''නියමයි. හැබෑට ම ඔබට කොපමණ වේලාවක් ගත වුණාද ඔය තරම් උසකට නගින්න? මගේ හිතේ පැයක් වත් යන්න ඇති.''

''මොන පිස්සුද?''යි මැහැල්ල කිව්වා. ''හිතුවද මං ගොලුබෙල්ලෙක් කියලා? මං මෙතැනට තත්පර දහයෙන් නැංගා.''

''තත්පර දහයෙන්? ඒ තරම් ඉක්මනින්? ඒ මොකද?''

''ඒ මොකද? මගේ පස්සෙන් තඩි කඟවේනා පැන්නුවා. ඔන්න කාරණේ!''

''මොනවා?''යි චෙබුරාෂ්කා විස්මයෙන් කිව්වා. ''කවුද හැබෑට ඌව සත්තු වත්තෙන් නිදහස් කළේ? ඉතින් මොකටද ඔබේ පස්සෙන් ඌ පැන්නුවේ?''

නමුත් ඉන් එහාට කිසි දෙයක් පැහැදිලි කිරීමට මැහැල්ල අකමැති වුණා.

''ඉක්මනින් ම මහලු වුණොත් බොහෝ දේ දැන ගත හැකි වේවි!'' ඇය කීවේ එපමණයි.

චෙබුරාෂ්කා කල්පනා කරන්නට වුණා. ඒ නපුරු මෝඩ කඟවේනා ගැන ඔහු බොහෝ වතාවක් මින් පෙර අසා තිබුණා. ඒ නිසා ඔහුට කඩිමට වැටහුණා, කල් නැර යමක් කළ යුතු බව. එසේ නොවුණහොත් ඉක්මනින් ම කුණකටු ආච්චි පමණක් නොව, මුළු මහත් නගර වැසි සියලු දෙනා නත්තල් ගසේ එල්ලූ සෙල්ලම් බඩු මෙන් ගස් මත එල්ලී සිටිනු ඇත.

''දැන් ම මම දුවන්නම් ඌව සොයන්න!''යි අපේ පුංචි වීරයා තීරණය කළා.

තත්පර කිහිපයකින් ඔහු කඟවේනාට මුහුණ දුන්නා. කෝපයෙන් කුපිත වී සිටි කඟවේනා නිර්භීතයා වෙත කඩා පැන්නා. ඔවුන් දෙදෙනා බඹර වේගයෙන් වීදි දිගේ දුවන්නට පටන් ගත්තා. අන්තිමේ දී චෙබුරාෂ්කා එක්වර ම හැරී මුල්ලක සැඟවුණා. කඟවේනා දිගට ම දුවන්නට වුණා.

දැන් චෙබුරාෂ්කා කඟවේනා පසුපස දුවන්නට පටන් ගත්තා. ඒ උගෙන් වෙන් නොවී සිටින්නයි. චෙබුරාෂ්කා බය වුණා, කඟවේනා තමන්ට මඟ හැරේවි යැයි කියා. සුළු ඉඩකඩක් ලැබුණු සැණින් සතුන් වත්තට ටෙලිෆෝන් කර උදව් ඉල්ලීමට ඔහු සූදානමින් සිටියා.

''නියමයි! කඟවේනා අල්ලා දීම වෙනුවෙන් මට පදක්කමකුත් ලැබේවි.''යි දුවන අතරේ චෙබුරාෂ්කා කල්පනා කළා. එවැනි පදක්කම් තුනක් තිබෙන බව ඔහු දැන සිටියා. ''දියේ ගිලෙන්නන් බේරා ගැනීම උදෙසා'', ''නිර්භීත භාවය උදෙසා'', ''ශ්‍රමය උදෙසා'' ඒ පදක්කම් තුනයි. එහෙත් 'දියේ ගිලෙන්නන් බේරා ගැනීම උදෙසා' පදක්කම මේ අවස්ථාවට කොහෙත් ම උචිත නොවන බව ඔහුට තේරුම් ගියා.

''සමහර විට නිර්භීතභාවය උදෙසා පදක්කම පිරිනමාවි''යි පිතෙන්චික් කඟවේනා පසුපස දුවන අතරේ ඔහු කල්පනා කළා.

''අපොයි නැහැ. නිර්භීතභාවය උදෙසා පදක්කම නම් කොහොම වත් ලැබෙන එකක් නැහැ.''යි කඟවේනා යළිත් වරක් තමා පසුපස හඹා එන්නට වූයෙන් උගෙන් ගැලවී පැන දුවන අතරේ චෙබුරාෂ්කා කල්පනා කළා.

එහෙත් අන්තිමේ දී එලෙස නගරය පුරා කිලෝමීටර් පහළොවක් දිව ගිය පසු තමාට නොවරදවා ම හිමි වන පදක්කම අන් කිසිවක් නොව 'ශ්‍රමය උදෙසා' පමණක් බව ඔහුට ඒත්තු ගියා.

එවිට ම පසෙකින් පිහිටා තිබූ කුඩා නිවසක් චෙබුරාෂ්කා ගේ අවධානයට ලක් වුණා. ඔහු ඉක්මනින් එය වෙත දුවන්නට පටන් ගත්තා. කඟවේනා ද නැවතුනේ නැහැ. ඉදින් ඔවුන් දෙදෙනා පස් වරක් හෝ හය වරක් ගේ වටේ දුවන්නට වුණා.

දැන් කවුරු කා පසුපස හඹා යනවාද යි වටහා ගැනීමට අපහසුයි. කඟවේනා චෙබුරාෂ්කාව අල්ලා ගැනීමට ද - නැත්නම් චෙබුරාෂ්කා කඟවේනාව අල්ලා ගැනීමට ද, එසේත් නැත්නම් ඔවුන් තනි තනිව තමන් ගේ උවමානවට ඔහේ දුවනවාද යි වටහා ගැනීමට නොහැකියි.

එම පලක් නැති දිවයාම පිළිබඳව චෙබුරාෂ්කාට වැටහුණා. ඔහු ඉක්මනින් තරග බිමෙන් එළියට පැන ගත්තා. මෝඩ කඟවේනා තනිය ම ගේ වටේ දුවන අතරේ චෙබුරාෂ්කා සන්සුන් ව බංකුවක් මත හිඳ කල්පනා කරන්නට වුණා.

එක්වර ම ඔහු ගේ හිසට කදිම අදහසක් පහළ වුණා.

''ඒයි, යාළුවේ!''යි ඔහු කඟවේනාට කෑ ගා කතා කළා. ''මං මෙහේ! පුළුවන් නම් මාව අල්ලනවා බලන්න!''

අනතුරුව ඔහු ක්‍රමයෙන් කුඩා වී යන කෝණාකාර පටු වීදිය දෙසට දිව ගියා. එම කුඩා පටු වීදියේ කෙළවර කුඩා වී කෙමෙන් දෙපස ගොඩනැගිලි එකිනෙක ළං වී පිහිටා තිබුණා. හරියට ගෑවී නො ගෑවී මෙන්.

පිතෙන්චික් කඟවේනා ඔහු වෙත කඩා පැන්නා.

කෝණාකාර වීදිය එන්න එන්න ම පටු වුණා. අන්තිමට ඉතා ම පටු ස්ථානයක දී ගොඩනැගිලි දෙකක් අතරේ කඟවේනා හිරවුණා. ඌ කොතරම් කිටි කිටියේ හිර වුණාද යි කිවහොත් අඩියක් ඉදිරියට වත් පසුපසට වත් සෙලවෙන්න බැරිව ගියා. ඌ ගොඩනැගිලි දෙක අතරේ සිර වී සිටියේ හරියට බෝතලයකට ගැසූ පොරොප්පයක් වගේ.

උදැසන කඟවේනා රැගෙන යාමට සතුන් වත්තේ සේවකයන් පැමිණියා. ඔවුන් බොහෝ වේලාවක් මුව නොසෑහෙන සේ චෙබුරාෂ්කාට ස්තුති කළා. එමෙන් ම කවදා හෝ ඔවුන්ට වැඩිපුර අලි පැටියෙක් ලැබුණු දාට, ඇත්තම ඇත්ත අලි පැටියෙක් ඔහුට තෑගි දෙන බවටත් පොරොන්දු වුණා!

එමෙන් ම එදින කුණකටු ආච්චි ගහෙන් බස්සවා ගැනීමට සම්පූර්ණ ගිනි නිවන හමුදා බල ඇණියක් ම මුළු දවස පුරාම වෙහෙසුණා.

දැන් අලුත් නිවස තැනීමේ කටයුත්තට කාගෙන් වත් බාධාවක් නැහැ.

නමුත් එහි වැඩ බොහෝ ම ඉබිගමනින් සිදු වුණේ.

''අපි තුන්දෙනා විතරක් එකතු වී මේ වැඩේ දිගට ම කර ගෙන ගියොත් අඩු ම තරමින් අවුරුද්දකින් මෙහා වත් අලුත් නිවස සාදා නිම කිරීමට බැරි වේවි!''යි දිනක් ගියෙනා කිව්වා. ''අපට නොවරදවා ම උදව්කරුවන් අවශ්‍යයි.''

''හරියට ම හරි''යි ඔහුව අනුමත කරමින් චෙබුරාෂ්කා කිව්වා. ''ඒ වගේ ම ඔවුන් සොයා ගන්නා සැටිත් මම දන්නවා.''

''කොහෙන්ද?''

''දැන් ම කියන්නම්. හොඳයි. කා වෙනුවෙන්ද අපි මේ නිවස හදන්නේ''

''එකිනෙකා සමගින් මිතුරු වීමට උවමනා අය වෙනුවෙන්!''

''ඉතින් එයාලා අපට උදව් වුණා නම් වැඩේ ඉවරයිනේ! එහෙම නේද''

''හරියට ම හරි''යි ගාල්යා සහ කිඹුල්හාමි සතුටින් කෑගැහුවා. ''නුඹේ ඒ අදහස නම් කදිමයි. නොවරදවා ම ඔවුන් කැඳවා ගන්න ඕනෑ.''

එලෙස ඉදි කිරීම් වැඩපොළේ උදව්කරුවන් පෙනී සිටියා. අන්යූතා ජිරාෆ් තරුණියත් මාරියා ප්‍රාන්සෙව්නා වඳුරු පැංචිත්, සත්තකින් ම දිමා බිංදුවාත් මිතුරු නිවස ගොඩනැගීමට පැමිණියා. ඒ හැරුණු විට මරුස්යා නම් ඉතා ම චාම්, බොහොම හැදිච්ච විනීත ගැහැණු ළමයෙකුත් ඔවුන් සමගින් එකතු වුණා. ඇය පාසලේදී සැම විට ම ලකුණු සියයෙන් සියය ගන්නා විශිෂ්ට ශිෂ්‍යාවක් වුණා.

නමුත් ඇයටත් මිතුරන් සිටියේ නැහැ. මන්දයත් ඇය පමණට වඩා නිහඬ සහ කොහෙත් ම අවධානයට ලක් නොවන තරම් නිවුණු දැරියක්. ඇය නිවස අසලට පැමිණ උදව් වීමට පටන් ගත් බවවත් කිසි කෙනෙක් දුටුවේ නැහැ. ඒ ගැන අනිත් අය දැන ගත්තේ ඇය පැමිණ හතර වැනි හෝ පස් වැනි දිනයේදී යි.



තිවස ඉදි කරන්නන් රෑ බෝ වන තෙක් ම වැඩ කළා. ඇඳිරි වැටුණු පසු ජිරාෆ් තරුණිය ලන්තෑරුමක් දල්වා එය කටින් ගෙන ඉදි කිරීම් වැඩපොළ ආලෝකවත් කළා. එහෙත් ඇයට ඒ වෙනුවෙන් 'ස්තුතියි' යැයි නොකිව යුතු වුණා. මන්ද යත් කටකාර ඇය නොවරදවා ම එවිට 'ආ... ඒකට කමක් නෑ...''යි පවසනවා ඇත. එවිට ලන්තෑරුම නිසැකව ම ප්‍රසංශා කිරීමට ඉදිරිපත් වූ තැනැත්තා ගේ හිස මතට ඇද වැටෙනු ඇත.

එක්තරා සැඳෑවක ලන්තෑරුම් එළිය වෙත තඹ පාට හිස කෙස් සහ රැවුළක් ඇති උසැති පුද්ගලයෙක් සමීප වුණා. ඔහු ගේ අතේ සටහන් පොතක්ද තිබුණා.

''ආයුබෝවන්''යැයි ඔහු පැවසුවා. ''මම පත්තරෙන්. කරුණාකර කියනවද මොනවද ඔබලා මෙහි කරන්නේ කියා?''

''අපි ගෙයක් හදනවා''යි ගියෙනා උත්තර දුන්නා.

''මොන ගෙයක්ද? කුමක් සඳහාද?'' පත්තර වාර්තාකරු ප්‍රශ්න අසන්නට පටන් ගත්තා. ''මම ඉලක්කම්වලට බොහෝ ම කැමතියි.''



''අපේ නිවස බෙහෝ ම කුඩා එකක්.'' යැයි කිඹුල්හාමි ඔහුට පැහැදිලි කළා. ''දිග අඩි පහයි, පළල අඩි පහයි.''

''මහල් කීයද?''

''තනි මහලේ''

''හොඳයි අපි ලියා ගනිමු''යි කී පත්තර වාර්තාකරු සිය සටහන් පොතේ මොන මොනවදෝ කුරුටු ගෑවා. ඒ අතරේ ජිරාෆ් තරුණිය ඔහුට ලන්තෑරුම ඇල්ලුවා. ''හොඳයි. ඊට පස්සේ?''

''අපේ නිවසේ කවුළු හතරකුත් එක දොරටුවකුත් තිබෙනවා''යි ගියෙනා දිගට ම විස්තර කළා. ''නිවස ගොඩක් උස එකක් නොවෙයි. මුළු උස මීටර් දෙකයි. අප සොයා මෙහි එන ඕනෑ ම කෙනෙකුට අපි මිතුරන් සොයා දෙනවා. මෙන්න මෙතැන, කවුළුව අසල අපි වැඩ කිරීම සඳහා මේසයක් තබනවා. එතකොට මෙන්න මෙතැන දොර ගාව අමුත්තන් සඳහා දිවානයක් තබනවා.''

''එතකොට කවුද ඉදිකිරීම් කරන්නේ''

''අපි හැමෝම''යි කී ගියෙනා අවට සිටි අය පෙන්නුවා. ''මම, චෙබුරාෂ්කා, ජිරාෆ් තරුණිය, දිමා බිංදුවා සහ තවත් අය.''

''අන්න හරි. හැමදේම පැහැදිලියි.'' පත්තර වාර්තාකරු කිව්වා. ''හැබැයි ඔයාලා ගේ ඉලක්කම් ගැන නම් වැඩි පැහැදීමක් නැහැ. ටිකක් හරි ගස්සන්න ඕනෑ වෙයි වගේ.''යි කී ඔහු පිටවීමේ කඩුල්ල දෙසට ගමන් කළා. ''ගිහින් එන්නම්. හෙට පත්තරේ බලන්න.''

පසුදින පුවත්පත්වල පළ වී තිබූ මේ කුඩා ලිපිය අප මිතුරන් සතුටින් කියෙව්වා.

**ප්‍රවෘත්තිඃ-**

**අප නගරයේ 'මිතුරු නිවසක්' ඉදිවෙමින් තිබේ.**
**එහි උස මහල් දහයකි. පළල අඩි පනහක් ද දිග අඩි පනහක් ද වේ.**
**මෙහි කිඹුලන් දස දෙනෙක්ද, ජිරාෆ්වරුන් දස දෙනෙක්ද,**
**වඳුරන් දස දෙනෙක්ද, විශිෂ්ට ශිෂ්‍යයන් දස දෙනෙක්ද**
**ඉදි කිරීම් කටයුතු සිදු කරයි.**
**'මිතුරු නිවස' ඉක්මනින් ඉදි වනු ඇත.**

''අනේ හැබෑට!''යි ලිපිය කියැවූ 'කිඹුලන් දස දෙනා' කෑ ගැසුවා. 'එහෙමයි එහෙනම් ඉලක්කම් හරි ගස්සන්න ඕනෑ!''

''අනේ එයා බොරු කාරයෙක්.'' යැයි නහය පිස දමමින් විශිෂ්ටම ශිෂ්‍යයන් දස දෙනා (මරුස්යා) ඉතා ම චාම් විදියට කිව්වා.'' අපව හමු වෙන්න ඇවිල්ලා තියෙන්නේ බොරුකාර පත්තරකාරයෙක්.''

ඉදින් යළිත් කිසි දිනක සිය නිවසට එම උසැති තඹ පාට පුරවැසියා වැද්ද නොගැනීමට ඔවුන් සැම එක හඬින් තීරණය කළා. අඩු ම තරමේ කාලතුවක්කු වෙඩි දහයකටවත්.

දිනෙන් දින නොව, පැයෙන් පැය නිවස ඉදි වුණා. මුලදී එය කිඹුල්හාමි ගේ දණ හිස තෙක් උස වුණා. පසුව කම්මුල තෙක්. ඊටත් පසුව ඔහුට අතින් අල්ලන්න වත් බැරි තරම්. හැම දෙනා ම ඉතාමත් ප්‍රමෝදයට පත් වුණා. නමුත් චෙබුරාෂ්කා විතරක් දිනෙන් දින දුක් මුසු වෙන්න පටන් ගත්තා.

''නුඹට මක් වෙලාද''යි දිනක් කිඹුල්හාමි ඇහුවා. ''නුඹ අසතුටින්ද?''

''ඔව්!''යි චෙබුරාෂ්කා උත්තර දුන්නා. ''මම අසතුටින්. අපේ වෙළෙඳ සල වසා දමන්නයි සූදානම. කවුරුවත් පරණ බඩු මිලදී ගන්නේ නැහැ!''

''නුඹ ඇයි ඒ ගැන කලින් නොකිව්වේ?'' ගියෙනා ඇහුවා.

''පලක් නැති දේවලට නුඹලාට කරදර කිරීමට මට උවමනා වුණේ නැහැ. නුඹලාට තමන් ගේ වැඩ රාජකාරි ඉහටත් උඩින්.''

''මොන පලක් නැති දේවල්ද?''යි කිඹුල්හාමි කෑ ගැහුවා. ''කාරි නෑ... අපි නුඹට කොහොම හරි උදව් කරනවා.''

''අන්න වැඩේ!'' මිනිත්තු පහක් කල්පනා කළ කිඹුල්හාමි කෑ ගැහුවා. ''කීයටද ඔයාලගෙ වෙළෙඳ සල විවෘත කරන්නේ?''

''උදේ එකොළහට''

''අන්න හොඳයි! හැමදේම හොඳ අතට හැරේවි!''

පසු දින උදෙන් ම කිඹුල්හාමි වැඩට ගොස් නිවාඩුවක් ඉල්ලා ගත්තා. ඔහු වෙනුවට වලේරා කිඹුල්හාමි එහි රාජකාරියේ නිරත වුණා.

කිඹුල්හාමි සමගින් උදෑසන ලොකු රාජකාරි නොතිබූ මිතුරන් සියලු දෙනා චෙබුරාෂ්කා ගේ වෙළෙඳ සල විවෘත කිරීමට පැය දෙකකට පෙර එහි දොරටුව අසල රැස් වුණා.




ගියෙනා, ගාල්යා, දීමා,  කකුල් දිග ජිරාෆ් තරුණිය සහ චෙබුරාෂ්කා දොරටුව අසල තෙරපෙමින්, කවුළු තුළින් වෙළෙඳ සල තුළට එබිකම් කරමින් නොඉවසිල්ලෙන් කෑගැවා.

''කීයටද මේ කඩේ අරින්නේ? අනේ හැබැට මේ කඩේ අද අරින්නෙම නැද්ද?''

මේ අතර වෙළෙඳ සලේ කළමනාකරු සහ සේවකයන්ද මෙතැනට පැමිණියා. ඔවුන්ද සිය වෙළෙඳ සලේ කවුළුවලින් එබිකම් කරමින් කෑ ගසන්න පටන් ගත්තා.

''කීයටද මේ කඩේ අරින්නේ? අනේ හැබැට මේ කඩේ අද අරින්නෙම නැද්ද?''

මේ අතර සිය හීලෑ මී හාමිනේ ද කිහිලි ගන්නාගෙන ඒ අසලින් කුණකටු ආච්චි ගමන් කළා. ඇය බොහෝ වේලාවක් කල්පනා කරමින් සිට අන්තිමේදී පෝලිමට එකතුවීමට තීරණය කළා.




ලොකු මල්ලක් අතින් ගත් පුංචි මහල්ලෙක් ඇය වෙතට කිට්ටු වී මෙහි විකිණීමට ඇත්තේ මොනවාදැයි ප්‍රශ්න කළා. එහෙත් කුණකටු ආච්චි ඔහුට කිසිවක් කිව්වේ නැහැ. බොහොම වැදගත් විදියට උරහිස් නැටෙව්වා.

''බාගදා මොනවා හරි හොඳ දෙයක් වෙන්න ඇති!''යි අනුමාන කළ මහල්ලා වෙළෙඳ සලේ කවුළු තුළින් එබිකම් කරන්නට වුණා.

කොටින්ම කිව්වොත් වෙළෙඳ සලේ දොර විවෘත කළ සැණින් එතුළට කොතරම් පිරිසක් තෙරපී කඩා වැදුනාදැයි කිවහොත් යන්තම් අතපය කඩා නොගැනීම ලොකු වාසනාවක් වුණා.

ඔවුන් අතට හසු වූ සියල්ල මිලට ගත්තා. කිසිවක් මිලදී නොගෙන පැය දෙකක් පුරා එළියේ සිට ගෙන සිටීමට සිදුවීම ගැන ඔවුන් හිතේ අමාරුවෙනුයි සිටියේ. එහෙත් භූමිතෙල් ලාම්පු විතරක් කාටවත් උවමනා වුණේ නැහැ. ඒ හැමෝටම විදුලි බලය තිබූ නිසයි.

එවිට වෙළෙඳ සලේ කළමනාකරු පාට කූරක් ගෙන මෙසේ ලිව්වා.

"භූමිතෙල් ලාම්පු තිබේ!
මිදුලේදී විකිණේ.
එක් අයකුට දෙක බැගින් ලබාදෙනු ලැබේ!"

එසැණින් ම සියලු ගැණුම්කරුවෝ මිදුලට දිවගොස් ලාම්පුවලට පොර කන්න පටන් ගත්තා. ලාම්පු මිලදී ගැනීමට සමත් වූ අය ඒ ගැන ඉමහත් ප්‍රමෝදයට පත් වුණා. එහෙත් ඒවා මිලදී ගැනීමට නොහැකිව වූ අය වෙළෙඳ සලේ බලධාරීන්ට මුව නොසෑහෙන සේ දෙහි කැපුවා.

ඉදින් කුණකටු ආච්චි අනෙක් අය හැමෝ ම පෙරළගෙන දිවගොස් කෙසේ හෝ ලාම්පු කුට්ටම් දෙකක් ම මිලට ගත්තා. ඉන් එකක් තමන්ට. අනෙක ලරිස්කාට. එලෙස එම ලාම්පු එදාසිට මේ දක්වාම ඇය ළඟ පරෙස්සමට තබා තිබෙනවා. ඒ කවදා හරි අමාරු කාලෙක ප්‍රයෝජනයට ගන්නයි.



එක්තරා ඉරිදා දිනෙක සියලු ඉදිකරන්නන් අමතා ගියෙනා මෙසේ කීවා.

"නිවසේ බිත්ති සම්පූර්ණයෙන් ම සාදා අවසන්. දැන් ඉතින් පියස්ස හදන්නේ මොනවායින්ද?"

"අයියෝ, ඒකත් අහන්න දෙයක්දැ?"යි ජිරාෆ් තරුණිය කෑ ගැසුවා. ඇය පහත් වී බිත්තියේ වැරදි ලෙස තබා තිබූ ගඩොල් කැටයක් නිවැරදි කළා. "සාමාන්‍යයෙන් පියස්ස තනන්නේ ජලය කාන්දු නොවන දෙයකින්. ඒ වගේ ම පියස්සක් නොහදා සිටින්නත් පුළුවනි."

"ස්තුතියි" අන්‍යුතාට කිඹුල්හාමි ස්තුති කළා. "අපට හැමදේම කදිමට පැහැදිලි වුණා. හොඳයි. අපේ ගරු කටයුතු වඳුරු පැංචි මොකද කියන්නේ?"

මාරියා ප්‍රාන්සෙව්නා මිනිත්තුවක් කල්පනා කළා. පසුව පිරිසිදු අත් ලේන්සුවක් සාක්කුවෙන් එළියට ගෙන, මුව තුළ හංගාගෙන සිටි සියලු වස්තුව එය මත හැලුවා.

"මොකුත් නැහැ."

ඉන් පසු ඇය සිය වටිනා ධනය හනික මුව තුළ ඔබා ගත්තා. ඇත්තෙන් ම පසුගිය කාලයේ වඳුරු පැංචි ගේ කම්මුල් තිබුණාටත් වඩා බොහොම පිම්බුනා. මන්ද යත් අලුත් හිතවතුන් පොඩි පොඩි බඩු මුට්ටු මහගොඩක් පරෙස්සම් කර තබා ගැනීමට ඇයට භාර දුන් නිසයි.

උදාහරණයක් ලෙස, ඔබ පාරේ ඇවිද යන විට අහම්බෙන් සූට්කේසයක යතුරක් පාරේ වැටී තිබී සොයා ගත්තායැයි සිතමු. එහෙත් සූට්කේසය තව ම සොයා ගන්නට නොහැකි වූවා නම්, කිසි ප්‍රශ්නයක් නොමැතිව ඒ යතුර වඳුරු පැංචිට බර දිය හැකියි.

කවදා හරි ඔබට එම සූට්කේසය හමු වන තෙක් කිසි අතුරු ආන්තරාවක් නොමැතිව එහි යතුර වඳුරු පැංචි ගේ නිදන් වස්තු අතරේ සුරැකිව තිබෙනු ඇත.

''මදෑ වැඩක හැටි''යි ගියෙනා කිව්වා. ''කාටවත් නොහැකිද උපදේශයක් ලබාදෙන්න?''

''මට පුළුවනිද කතා කරන්න?''යි නිහඬ ගැහැණු ළමයා මරුස්යා ඇහුවා. ''මං හිතන්නේ, මට ඒ ගැන අදහසක් ආවා කියලයි. ඔන්න අපේ ගේ වටේට ලී තාප්පයක් තියෙනවා. එය දූන් අපට උවමනා නැහැ. එයින් අපට වහලය තනන්න පුළුවන්.''

''ජයවේවා''යි ඉදි කරන්නන් කෑ ගැහුවා. ''ඇය යස අපූරුවට ඒ ගැන කල්පනා කළා.''

''එකඟයි.'' ගියෙනා කිව්වා. ''ඒත් ඒ සඳහා මට ඇණ උවමනා කරනවා.''යි කී කිඹුල්හාමි සිතින් ගණන් හදන්නට වුණා. ''අඩු ම තරමින් ඇණ හතළිහක්වත්! ඉතින් ඒවා කොහෙන්ද සොයා ගන්නේ?''

සැම දෙනා ම චෙබුරාෂ්කා දෙස බැලුවා.

''අවශ්‍යතාවය කියන්නේ - අවශ්‍යතාවයට''යි චාම් විදියට ඔහු කිව්වා. ''මම ඇණ සොයා ගන්නම්.''

ඔහු මඳක් කල්පනා කරමින් සිට නගර සීමාව තෙක් දිව ගියා. එහි ප්‍රධාන නාගරික ඉදි කිරීම් ගබඩාව පිහිටා තිබුණා.

ගබඩාවේ කඩුල්ල අසල ප්‍රධාන ගබඩාකරු බංකුවක් මත අලස පෙනුමෙන් හිඳ සිටියා. ඔහු දණ හිස තෙක් උසැති සපෝගී නම් උණුසුම් පාවහන් පැලඳගෙනයි සිටියේ.

මඳක් දුර සිට කතාව ආරම්භ කිරීමට චෙබුරාෂ්කා අදහස් කළා.

''හිරු බබළනවා... තණ කොළ පාටයි!'' චෙබුරාෂ්කා වර්ණනා කළා. ''ඉතින් අපට ඇණ උවමනායි. ඇබිත්තක් දෙන්න බැරි නැහැ නේද?''

''ඒ කොළ පැහැති තණ නොවෙයි.'' ගබඩාකරු පිළිතුරු දුන්නා. ''ඒ ඉහිරුණු සායම්... ඉතින් ඇණ නම් නැහැ. හැම පෙට්ටියක් ම ගණන් බලලයි තියෙන්නේ.''

''ඒ වුණත් කුරුලු පැටවුන්ගේ කිචි බිචි ගී ගැයුම අහන්නකෝ...''යි චෙබුරාෂ්කා චාටු කතාව දිගට ම කර ගෙන ගියා. ''වැඩිපුර තිබෙන ඇබිත්තක් සොයා ගන්න බැරි නැහැ නේද? අපට ඇබිත්තයි උවමනා.''

''අනේ ඒ ගී ගයන්නේ කුරුලු පැටව් නම් කොතරම් අපූරුද?'' ගබඩාකරු සුසුම්ලමින් කිව්වා. ''ඒ.. මේ... කඩුල්ල කිරි-කිරි ගාන හඬනේ... ඒත් මං ඇණ නම් සොයන්නේ නැහැ! වැඩිපුර එකක්වත් ඇත්තේ නැහැ!''

''බොහොම කණගාටුයි, ඒ කුරුලු පැටව් නොවීම ගැන!''යි චෙබුරාෂ්කා කිව්වා. ''අපි 'මිතුරු නිවසක්' හදනවා!''

''මිතුරු නිවසක්?'' ගබඩාකරු උනන්දු වුණා. ''අන්න ඒ විදියට ආවා නම් ඉවරයිනේ! ඒ වැඩේට නම් මම නුඹට ඇණ දෙන්නම්! හැබැයි මම නුඹට දෙන්නේ ඇද ඇණ. හරියයිද?''

''හරියාවි!'' චෙබුරාෂ්කා සතුටු වෙමින් කිව්වා. ''බොහොම ස්තුතියි! හැබැයි මට ඒත් එක්ක ම ඇද මිටියකුත් දෙන්න ඕන.''

''ඇද මිටියක්?'' ගබඩාකරු මවිතයෙන් ඇහුවා. ''ඒ මොකටද?''

''මොනවා - ඒ මොකටද? ඇයි - ඇද ඇණ ගහන්න.''

අන්න එවිට මෙතෙක් වෙලා උදාසීන පෙනුමෙන් සිටි ගබඩාකරුට තවත් අල්ලා සිටින්න බැරිව ගියා. ඔහු කොක් හඬලා සිනාසෙන්නට වුණා.

''හා... හොඳයි. කාරි නෑ... කෙළින් ඇණ දෙන්නම්. ඇද ඒවා මං ම කෙළින් කර ගන්නම්. ඔන්න අරගනින්.''

ප්‍රීතියෙන් ඉපිල ගිය චෙබුරාෂ්කා ඉදිකිරීම් වැඩපොළ බලා ඉගිළී ගියා.



ඇන් නිවස සම්පූර්ණයෙන් ම සාදා නිමයි. ඉතිරි වී ඇත්තේ ඉතා ම සුළු කොටසක්. එහි සායම් ගාන්න පමණයි දැන් තියෙන්නේ. නමුත් ඒ ගැන මිතුරන් අතරේ වාදයක් ඇති වුණා.

කිඹුල්හාමි කොළ පාට නිසා ඔහු කල්පනා කළා, නිවස කොළ පාට විය යුතුයි කියලා. මන්දයත් ඒ පැහැය ඇසට වඩාත් ම ප්‍රිය උපදවන නිසා. එහෙත් දුඹුරු පාට වඳුරු පැංචි මාරියා ප්‍රාන්සෙව්නා කල්පනා කළේ - වඩාත් ම ඇසට ප්‍රිය උපදවන වර්ණය දුඹුරු පාට කියලයි. ඒ වගේ ම අන්යුතා ජිරාෆ් තරුණිය පුන පුනා කිව්වේ වඩාත් ම හොඳ වර්ණය ජිරාෆ් පැහැය කියලයි. එපමණක් නොව එම පැහැයෙන් 'මිතුරු නිවස' පාට කළොත් මුළුමහත් නගරයේ සියලු ම ජිරාෆ්වරු ඉදිකරන්නන්හට බොහොම ස්තුතිවන්ත වන බවත් ඇය කිව්වා.

අන්තිමේදී චෙබුරාෂ්කා යෝජනා කළා, හැම දෙනා ම එක් බිත්තියක් බැගින් තෝරා ගෙන තමන් කැමති පැහැයෙන් ඒ බිත්තිය වර්ණ ගන්වන්න කියලා.

නිවසට කදිම පෙනුමක් ලැබුණා. එහි සෑම බිත්තියක් ම විවිධ වර්ණයෙන් හැඩ වුණා. එක් බිත්තියක් කොළ පාටයි. අනෙක දුඹුරු පාටයි. ඊළඟ බිත්තිය කළු ලප සහිත කහ පාටයි. හැබැයි හතර වැනි බිත්තිය නම් සියලු දේදුණු වර්ණයෙන් බැබලුණා. ඒ බිත්තිය පාට කළේ, දීමා බිංදුවා තමයි. එයාට කැමති ම පාටක් තිබුණේ නැහැ. ඒ නිසා ඔහු සැරෙන් සැරේ හැමෝගෙ ම තීන්ත බාල්දිවලට පින්සල එබුවා.

''නුඹ දන්නවද වැඩක්''යැයි ගාල්යා චෙබුරාෂ්කා අමතා කිව්වා. ''මමයි, ගියෙනායි අදහස් කළා නිවස විවෘත කරන විට පිළිගැනීමේ කතාව නුඹට දීමට.''

''අපෝ මං බයයි. මට කොහොමටවත් එය කරන්න බැරි වේවි''යි චෙබුරාෂ්කා විරුද්ධ වුණා. ''මං කවදාවත් කතාවක් පවත්වලා නැහැ!''

''ආ... ඒකට මොකද? ඔයාට පුළුවනි, ඒ වැඩේ කරන්න.''යි ගාල්යා ඔහුව සනසවමින් කිව්වා. ''කතාව ටිකක් පුහුණු වෙන්න විතරයි තියෙන්නේ. එච්චරයි! දැන් මම නුඹට කියන්නම් පොඩි කවි පන්තියක්. නුඹ එය යන යන තැන කියවමින් පාඩම් කර ගන්න... නුඹට එය පැටලෙන්නෙ නැතිව කියන්න පුළුවන් නම් එහි තේරුම, ඕනෑ ම කතාවක් කිසි පැකිළීමක් නැතිව පවත්වන්න හැකි බවයි.''

කුඩා කාලයේ සිට ම කට පාඩම්ව තිබූ නොනැවතී එක දිගට කියාගෙන යන කවි පන්තියක් චෙබුරාෂ්කාට ඇය කියා දුන්නා.

''මී පැංචි ඉඟුරු පාන් පිච්චුවා,
මී පැංචි මී පැංචන් ගෙන්නුවා,
මී පැංචෝ ඉඟුරු පාන් කන්නට හැදුවා,
එක පාරට දත් ටික කැඩුනා...''

''ඒක බොහොම ලෙහෙසි කවි පන්තියක්නේ.''යි චෙබුරාෂ්කා කල්පනා කළා. ''මම එක පාරින් ම පාඩම් කර ගන්නම්.''

පසුව ඔහු හඬ නඟා කවිය කියෙව්වා.

''මී පැංතී ඉඟුලු පාං පිත්තුවා,
මී පැංතී මී පැංතන් ගෙන්නුවා,
මී පැංතෝ ඉඟුලු පාන් කන්නට හැදුවා,
එක පාලට දත් තික කැඩුණා... ''

''නැහැ, මම ටිකක් නිවැරදිව නෙවෙයි ඒ කවිය කිව්වේ.''යි ඔහු කල්පනා කළා. ''ඇයි මම මී පැංතී - ඉඟුලු පාන් කියලා කියන්නේ? හරි නම් කියන්න ඕන - ''මී පැංචි - ඉඟුරු පාන්'' කියලානේ. කාරි නෑ... තව පාරක් මුල ඉඳලා කියමු බලන්න.''

''මී පැංචි ඉඟුරු පාන් පිච්චුවා.''

ඔහු නිවැරදිව කියන්න පටන් ගත්තා.

''මී පැංචි මී පැංචන් ගෙන්නුවා.''

ඒ පදයත් මුළුමනින් ම නිවැරදි වුණා. නමුත් ඉන් එහාට කියවුණේ මෙන්න මේ විදියටයි.

"මී පැංතෝ ඉඟුලු පාන් කන්න හැදුවා,
එක පාලට දත් තික කැඩුණා..."

"හපොයි මේ මොලවද මේ කියවෙන්නේ?"යි චෙබුරාෂ්කා කේන්ති ගත්තා. "මත තමහලක් වතන කියවන්න බැහැ නොවැ! ඒ කියන්නේ තව හොඳට පාදම් කල ගන්න ඕනෑ..."

එලෙස ඔහු පාඩම් කළා. පාඩම් කළා... මුළු රෑ ම නොනිදා එළි වෙන තෙක් ම...



උත්සවය කදිමට පැවැත්වුණා. සියලු ඉදිකරන්නන් කදිමට හැඳ පැලඳ ප්‍රීතිමත් ලෙසින් එයට සහභාගි වුණා.

ගියෙනා කිඹුල්හාමි වඩාත් ම හොඳ ඇඳුම් කට්ටලයකින් සහ වඩාත් ම හොඳ පිදුරු තොප්පියකින් සැරසී සිටියා. ගාල්යා ඇය ගේ කැමති ම රතු තොප්පිය පැලඳ සිටියා. අන්‍යුතා ජිරාෆ් තරුණිය සහ මාරියා ප්‍රාන්සෙව්නා වඳුරු පැංචි මේ දැන් ලොන්ඩරියේ සිට ආවා වගේ දිස්නෙ දුන්නා.

ගාල්යා, ගියෙනා සහ චෙබුරාෂ්කා තිදෙනා ම නිවසේ ආලින්දයට ගොඩ වුණා.

''ගරු කටයුතු මහත්වරුනි!'' යි ගාල්යා මුලින් ම කතාව ආරම්භ කළා.

''ගරු කටයුතු නෝනාවරුනි!''යි කිඹුල්හාමි එයට එකතු කළා.

''ගරු කටයුතු දරු දැරියනි!''යි අන්තිමට වචන ස්වල්පයක් කතා කිරීමේ අරමුණ ඇතිව චෙබුරාෂ්කා කිව්වා.

''දැන් ඔබට පිළිගැනීමේ කතාව චෙබුරාෂ්කා විසින් ඉදිරිපත් කරනු ඇත.''යි ගාල්යා නිවේදනය කළා.

''කියපන්''යි චෙබුරාෂ්කා ඉදිරියට තල්ලු කරමින් කිඹුල්හාමි කිව්වා. ''නුඹ ලෑස්තිද?''

''ඇත්තෙන්ම''යි චෙබුරාෂ්කා උත්තර දුන්නා. ''මුළු ලෑම පාදම් කළා!''

ඔන්න චෙබුරාෂ්කා කතාව පටන් ගත්තා. මෙන්න චෙබුරාෂ්කා ගේ එම කතාව :

''ඉතින් මම මොලවද කියන්නේ? අපි හැමෝත ම ගොඩාක් ලතුටුයි! අපි නිවස හැදුවා. හැදුවා - අන්තිමේදී ඉවල කළා! අපත ජය වේවා! අපත ජය වේවා!''

''ජය වේවා!''යි හැමෝ ම කෑ ගැහුවා.

''කොහොමද වැඳේ?''යි චෙබුරාෂ්කා ඇහුවා. ''නියමෙත මං කළා නේද?''

''නියමෙත කළා!''යි ගියෙනා ප්‍රශංසා කරමින් කිව්වා. ''හපනා''

ඉන් අනතුරුව කිඹුල්හාමි උත්සවාකාරී විලසින් එළිපත්ත හරහා ඇද තිබූ රිබන් පටි කපා දැමුවා. ඒ සමග ම සැම ගේ අත්පොලසන් නාදය මැද චෙබුරාෂ්කා නිවසේ දොර විවෘත කළා.

එහෙත් දොර විවෘත කළ සැණින් චෙබුරාෂ්කා අකරතැබ්බයකට මුහුණ පෑවා. එක්වර ම බලාපොරොත්තු නොවූ ආකාරයෙන් ලොකු රතු ගඩොල් කැටයක් ඔහු ගේ හිස මත පතිත වුණා! චෙබුරාෂ්කාට උන් හිටි තැන් අමතක වුණා. තරු විසි වුණා. අහස, පොළොව, නිවස කොහේද තියෙන්නේ කියන එක තියා, තමා චෙබුරාෂ්කා බව පවා එයාට වටහා ගන්න බැරි වුණා.

නමුත් ඒ සියල්ල නොතකා චෙබුරාෂ්කාට එක්වර ම තේරුම් ගියා, දොරටුව උඩ ගඩොල් කැටයක් එලෙස රැඳෙව්වේ කවුදැයි කියා.

''හොඳයි බලා ගමු!''යි ඔහු කිව්වා. ''හොඳයි බලාගමු අවාසනාවන්ත කුණකටු ආච්චි! මං හොඳ වැඩක් කරන්නම්!''

අවාසනාවන්ත කුණකටු ආච්චි මේ අතර සිය නිවසේ සඳළු තලයට වී චෙබුරාෂ්කා ගේ හිස මත කදිමට ගෙඩියක් ඉහළට පැන නැංග අයුරු දුරදක්නයෙන් බලා සිටියා. එපමණක් නොව ඇය සිය සහකාරිය හීලෑ මී හාමිනේට ද එම දසුන නරඹන්නට දුරදක්නය පිරිනැමුවා. ඉදින් කවදාවත් නැති තරම් ඔවුන් දෙදෙනා හිත පුරා සංතෝෂ වුණා.

"දැන් වැඩ පටන් ගන්න වෙලාව හරි"යි ගාල්යා කිව්වා. "මිතුරන් අවශ්‍ය හැමෝගෙ ම නම් අපි දැන් පොතක ලියා ගනිමු. කරුණාකර කියන්න බලන්න කවුද පළමුවැනියා කියලා?"

එහෙත් වැඩ මඳක් ඇනහිටියා. පුදුමයකට මෙන් කිසි කෙනෙක් ඉදිරිපත් වුණේ නැහැ.

"කවුද පළමුවැනියා?" ගියෙනා යළිත් ප්‍රශ්න කළා. "කවුරුවත් නැද්ද"

හැමෝ ම නිහඬව සිටියා. එවිට ගාල්යා දිග පාද ඇති ජිරාෆ් තරුණිය දෙසට හැරුණා.

"කියන්න, ඔබට මිතුරන් උවමනා නැතිද?"

"උවමනා නැහැ."යි අන්යූතා උත්තර දුන්නා. "දැන් උවමනා නැහැ. මට මිතුරෙක් ඉන්නවා."

"කවුද ඒ?" චෙබුරාෂ්කා විමසුවා.

"ආ... කවුද ඒ? ඇත්තෙන් ම ඒ වඳුරු පැංචිනේ! අපි දෙන්නා බොහොම කලකට පෙරදීයි මිතුරු වුණේ!"

"ඒත් ඔබ කොහොමද ඇය සමග ඇවිදින්න යන්නේ?"යි චෙබුරාෂ්කා තවත් පැනයක් ඉදිරිපත් කළා. "ඇයත් උඩ බලාගෙන ඇවිදලා වළකට වැටේවි නේ?"

"නැහැ. එහෙම වෙන්නේ නැහැ"යි ජිරාෆ් තරුණිය කිව්වා. ඇය පහත් වී කිඹුල්හාමි ගේ පිදුරු තොප්පියෙන් කැබැල්ලක් සපා යළි කතාව පටන් ගත්තා. "අපි ඇවිදින්න යන විට ඇය මගේ ගෙලේ එල්ලෙනවා. හරියට කරපටියක් වගේ. ඉතින් අපට ඒ විදියට කතා බස් කරමින් ඇවිදීම හරිම පහසුයි."

''හැබෑ නේන්නම්''යි චෙබුරාෂ්කා විස්මයට පත් වෙමින් කිව්වා. ''මට නම් ඒ වගේ අදහසක් කවදාවත් ඔළුවට එන්නේ නැහැ!''

''හොඳයි, එතකොට නුඹ - දීමා?''යි ගාල්යා දීමා දෙසට හැරෙමින් විමසුවා. නුඹත් හැබෑට ම මිතුරෙක් සොයා ගත්තාද?''

''සොයා ගත්තා''යි දීමා උත්තර දුන්නා. ''ආයෙ තව මොනවද?''

''රහසක් නොවේ නම් ඒ කවුද? පෙන්වන්න අපට''

''මෙන්න මෙයා''යි කී දීමා මරුස්යාව අත දිගු කර පෙන්නුවා.

''ඒත් එයාට බිංදු එකක්වත් නැහැ නොවැ!''යි ගියෙනා කිඹුල්හාමි මවිත වෙමින් කිව්වා.

''ඒක නම් ඇත්තට ම නරකයි තමා''යි දීමා එකඟතාව පළ කරමින් කිව්වා. ''ඒත් ප්‍රධාන දේ බිංදු නොවෙයි. කෙනෙකුට බිංදු නැත්නම්, ඉන් අදහස් වෙන්නේ නැහැ එයා කිසි දේකට නුසුදුසුයි කියලා. හැබැයි මට පුළුවන් ඇය ගෙන් බලාගෙන පාඩම් කොපි කරන්න. ඒ විතරද ඇය මට පාඩම් වැඩවලටත් උදව් වෙනවා. ඔන්න දැක්කද?''

''කදිමයි!'' ගාල්යා කිව්වා. ''හොඳින් ශක්තිමත් ලෙස මිතුරු වන්න. අපට තියෙන්නේ සතුටු වෙන්න විතරයි ඒ ගැන. මම කිව්වා හරි නේද?''

''හරියට ම හරි.''යි ගියෙනා සහ චෙබුරාෂ්කා එකඟ වුණා. ''ඒත් අප නැතිව හැමෝම මිතුරු වෙලා නම් අපි කාවද දැන් මිතුරු කරවන්නේ?''

ප්‍රශ්නය සාධාරණ එකකි. මිතුරුවීමට කැමති කිසිවෙක් තවත් ඉතිරිව නැත.

''දැන් ඉතින් මොනවා කරන්නද?''යි චෙබුරාෂ්කා දුක්මුසුව කිව්වා. ''ගේ හදලා බැලින්නම් අන්තිමේදී පලක් නැති වැඩක් වෙලා!''

''කොහෙත් ම පලක් නැති වැඩක් නම් නො වේ!''යි ගාල්යා විරුද්ධ වෙමින් කිව්වා. ''ඒ මොකද කියනවා නම්, පළමුවැනි කාරණය - අපි ඉන් මිතුරු කළා, අන්යුතා සහ වඳුරු පැංචිව. නිවැරදිද?''

''නිවැරදියි!'' හැමෝම කෑ ගැහුවා.

''දෙවැනි කාරණය - අපි මිතුරු කළා, දීමා සහ මරුෂ්යාව. නිවැරදිද?''

''නිවැරදියි!'' හැමෝම කෑ ගැහුවා.

''එතකොට තුන්වැනි කාරණය - අපට දැන් අලුත් නිවසක් තියෙනවා. ඉතින් අපට හැකියි එය කාට හෝ තෑගි දෙන්න. උදාහරණයක් ලෙස චෙබුරාෂ්කාට. ඇත්තට ම එයා ටෙලිෆෝන් කුටියකයි තවමත් ජීවත් වෙන්නේ. මං හරි නේද?''

''හරියට ම හරි!'' තෙවැනි වරටත් හැමෝම කෑ ගැහුවා.

''නැහැ, හරි නැහැ''යි චෙබුරාෂ්කා එක්වර ම කිව්වා. ''මේ තිවස තෑගි දෙන්න ඕනෑ මට නොවෙයි. අපි හැමෝටම. අපි මෙහි ළමා සමාජයක් සංවිධානය කරමු. සෑම සැන්දෑවක ම මෙහි පැමිණ එකිනෙකා හමුවෙමු! සෙල්ලම් කරමු!''

''එතකොට නුඹ?''යි කිඹුල්හාමි ප්‍රශ්න කළා. ''නුඹ හිතාගෙන ඉන්නේ ඔය විදියට දිගට ම ටෙලිෆෝන් කුටියේ වාසය කරන්නද?''

''කාරි නැහැ''යි චෙබුරාෂ්කා කිව්වා. ''මම කොහොම හරි ජීවිතේ හරිගස්සා ගන්නම්. හැබැයි මාව ළමා පෙර පාසලක සෙල්ලම් බඩුවක් විදියට වැඩට බඳවා ගත්තොත් නම් කදිමයි. දවල්ට මම පුංචි ළමයින් සමගින් සෙල්ලම් කරනවා. රෑට මම ඒ පෙර පාසලේ ම නිදා ගන්නවා. ඒත් එක්කම රෑට මුර කරන්නත් හැකියි. ඒත් බැරි වෙලාවත් මාව පෙර පාසලකට බාර ගත්තේ නැත්නම්, එහි තේරුම මම පලක් නැති කෙනෙක්...''

''පලක් නැති කෙනෙක් වෙන්නේ කොහොමද?''යි කිඹුල්හාමි කෑ ගැහුවා. ''බොහොම ප්‍රයෝජනවත් කෙනෙක්. ඔන්න මං ගැන නම් කියන්න තිබුණා, පලක් නැති කෙනෙක්ය කියලා.''

''අපි හැමෝම එකතු වෙලා නුඹ වෙනුවෙන් ඉල්ලා සිටිනවා.''යි සැවොම චෙබුරාෂ්කාට කිව්වා. ''නුඹව ඕනෑම පෙර පාසලකට බඳවා ගනීවි. ඒ විතරක් නොවෙයි, බොහෝ ම ස්තුති කරාවි!''

''අනේ කොච්චර අපූරුද...''යි චෙබුරාෂ්කා කිව්වා. ''එහෙම වුණොත් මං ගොඩක් වාසනාවන්ත වේවි!''

එලෙස අපේ වීරයෝ කටයුතු කළා. නව තිවසේ ළමා සමාජයක් සංවිධානය කළා. ඒ වගේ ම චෙබුරාෂ්කාව සෙල්ලම් බඩුවක් ලෙසින් ළමා පෙරපාසලකටත් භාර දුන්නා. හැමෝම සතුටින් සතුටට පත් වුණා.

එම නිසා මම තීරණය කළා, පෑන්සල අතට ගෙන අවසාන වශයෙන් එක් කෙටි වචනයක් ලිවීමට:

**නිමි.**

එහෙත් මම පැන්සල අතට ගෙන 'නිමි' වචනය ලියන්නට සැරසෙනවාත් සමග ම චෙබුරාෂ්කා බොහොම කලබලයෙන් මා වෙතට දිව ආවා.

''එහෙම කොහොමද, ඉවර කරන්නේ?''යි එයා කෑ ගැහුවා. ''නිමි'' කියා ලියන්නට නොහැකියි. මම තවමත් අර වරදකාරී කුණකටු ආච්චි ගැන ඇහැ ගහගෙනයි සිටින්නේ. මුලින් ම අපි උන්දෑට යස පාඩමක් උගන්වමු. ඊට පස්සේ හැකියි 'නිමි' කියා ලියන්න.''

''හා හොඳයි, එහෙනම් පාඩමක් උගන්වන්නකෝ බලන්න.''මම කිව්වා. ''ඉතින් කොහොමද ඒ වැඩේ කරන්නේ?''

''හරි ම ලේසි විදියකට''යි චෙබුරාෂ්කා උත්තර දුන්නා. ''ඔන්න බලාගෙන ඉන්නකෝ...''

සැබැවින් ම සියල්ල ඉතාමත් ලෙහෙසියෙන් සිදු වූ බව පෙනී ගියා...

පසුදින උදෑසන ගියෙනා, ගාල්යා සහ චෙබුරාෂ්කා කුණකටු ආච්චි ගේ නිවසේ මිදුලට එකතු වුණා. ඔවුන් සැම දෙනා ම ලොකු ලස්සන විවිධ පැහැයෙන් යුතු බැලුන් බෝල පොකුරු අතින් ගෙන සිටියා.

මේ අවස්ථාවේ කුණකටු ආච්චි මිදුලේ බංකුව මත වාඩි වී ඊළඟට කළ යුතු කපටි ක්‍රියාව ගැන සිතින් සැලසුම් කරමිනුයි සිටියේ.

''ඔබටත් බැලුන් බෝලයක් දෙන්නද?''යි මැහැල්ල වෙතට කිට්ටු කර චෙබුරාෂ්කා ඇහුවා.

''නොමිලේ...?''

''ඇත්තෙන් ම නොමිලේ...''

''මෙහෙ දියන්!'' කී මැහැල්ල චෙබුරාෂ්කා ගේ පාට පාට බැලුන් බෝල පොකුරම පැන උදුරා ගත්තා. ''අතට ගත්තොත් ආපහු දෙන්නෙ නම් නැහැ පුතෝ...!''යි ඇය දැනුම් දුන්නා.

''ආ... තවත් ඕනද?''යි ගාල්යා ඇය ගෙන් විමසුවා.

''දියන්!''

දැන් ඇගේ අතේ ලොකු ම ලොකු බැලුන් බෝල පොකුරු දෙකක්. ඒවා කුණකටු ආච්චිව අහස දෙසට අදින්නට වුණා.

''තවත් දෙන්නද?''යි බැලුන් බෝල පොකුරක් දිගු කරමින් ගියෙනා කතාවට මැදිහත් වුණා.

''ඇත්තෙන්ම!''

එලෙස කෑදර කුණකටු ආච්චි ගේ දෑතට ගියෙනා ගේ බැලුන් බෝල පොකුරත් එකතු වුණා.

දූන් බැලුන් බෝල පොකුරු තුනක්ම මැහැල්ලව ගුවනට අදින්නට වුණා. සෙමෙන් සෙමෙන් ඇය පොළොවෙන් ඈත් වී වලාකුළු දෙසට පා වී යන්නට පටන් ගත්තා.

''බේර ගනියෝ... මට උඩ යන්න ඕන නැතෝ...!''යි මැහැල්ල විලාප තියන්නට වුණා.

එහෙත් දූන් පමා වැඩියි. උඩු සුළඟට හසු වී ඇය ඈතින් ඈතට ගසා ගෙන ගියා.

''මංකොල්ලකාරයෝ!''යි ඇය අහසේ සිට මොර දුන්නා. ''මං ආපහු එනවා. ඔන්න බලා ගනියව්. එදාට මං තොපට යස පාඩමක් උගන්වනවා. උඹලා හැමෝට ම මිහිපිට වසන්න ඉඩ තියන්නේ නැහැ!''

''බැරි වෙලාවත් ඇය ආපහු ඒවිද?''යි ගාල්යා දෙගෙඩියාවෙන් චෙබුරාෂ්කා ගෙන් ඇහුවා. ''එහෙම වුණොත් සත්තකින්ම අපට මිහි පිට වසන්න ඉඩ දෙන එකක් නැහැ''

''බය වෙන්න එපා.''යි චෙබුරාෂ්කා ඇය අස්වසාලමින් කිව්වා. ''සුළං පහර ඇයව බොහෝ ම ඈතින් ඈතට රැගෙන යාවි. මිනිසුන් ගේ උපකාරයක් නැතිව ඇයට තනියම ආපහු කවදාවත් මෙහි එන්න බැහැ. ඇය මින් ඉදිරියටත් මේ වගේ ම නපුරු තැනැත්තියක්ව සිටියොත් ඇයට කවුරුවත් උපකාර කරන එකක් නැහැ! එහි තේරුම ඇය කවදාවත් ආපහු අපේ නගරයට නොඑන බවයි. අපි ඇයට උගන්වපු පාඩම කදිමයි නේද''

''කදිමයි'' කිඹුල්හාමි කිව්වා.

''කදිමයි.'' ගාල්යා එකඟ වුණා.

ඉන් අනතුරුව කරන්නට කිසිවක් ඉතිරි නොවූයෙන් මම පැන්සල අතට ගෙන කෙටි වදන් දෙකක් ලිව්වා.

## කතාව නිමි

එදුආර්ද් උස්පෙන්ස්කි

# ගියෙනා කිඹුල්හාමි සහ ඔහු ගේ යාළුවෝ

පරිවර්තනය
**මල්රේණු කස්තුරිරත්න**

පරිගණක සකැසුම
**මාලක ලලනජීව**


මුද්‍රණය




ප්‍රකාශනය



**සී/ස, ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්) සමාගම**
91, ආචාර්ය අන්.ඇම්. පෙරේරා මාවත, කොළඹ 08

ප්‍රථම මුද්‍රණය 2017

А. Успенский

**КРОКОДИЛ ГЕНА И ЕГО ДРУЗЬЯ**

## එදුආර්ද් උස්පෙන්ස්කි

# ගියෙනා කිඹුල් හාමි සහ ඔහු ගේ යාළුවෝ

පරිවර්තනය



චිත්‍ර

අ. අලීර්

ISBN 978-955-1319-67-0



LKR 500/-
9 "789551"319670"



සී/ස ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්.) සමාගම
91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08